සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2016 අගෝස්තු)

59 වෙනි කලාපය



## වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# දහම් දකිමු

පණ නම් පිණි බිඳකි තණ අග තිබෙන රැඳී
පින පව අනුව ඇත රුදු භව ගමන යෙදී
දැන වුව එම දහම පස් කම් සුවය විඳී
බණ කොතෙකුත් අසති එනමුත් නොමැත මිදී

බාලය තරුණ මහලුය යයි කියා නැත
කාලය පැමිණි කල මරු අප කරා එත
ආලය බැඳුර ඇති පස් කම් සුවේ වෙත
සීලය රකිනු සැලසෙයි පර ලොවේ සෙත

මරණය නියතමය එය ලෝ දහමෙ හැටී
උරුමය එබඳු වෙයි නිති සිහි කෙරුම වටී
නියමය පිළි ගනිමු කිම ඇති එලය ගැටී
පිරුමය කුසල් යුතු මෙම දිවි මගෙහි කෙටී

නිතියෙන පවිටු සිතිවිලි එයි මන බඳින
ඇති වන කෙළෙස් සිත තුළ ගත යුතු හැඳින
විමසන නුවණ යෙදවිය යුතු හැකි පමණ
රැවටෙන අයට තව තව දුර වෙයි නිවන

නොයෙකුත් කෙළෙස් බර පොදි හිස තබා ගෙන
හදවත් දවන දුක් කරදර දරා ගෙන
විඳගත් දුක මදිද සැප යයි සිතා ගෙන
මැදහත් සිත වඩනු දුක් ගිනි නිවා ගෙන

අරි අට මග මුනිඳු දෙසු නිවනට මග වේ
පිරිසිදු අමිල දහමකි එපරිදි දෙසු වේ
විරියක් නොමැති අය තව දුර පසුබට වේ
හරි මග දැකිය යුතු සිරි සදහම හමු වේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# ධම්ම පදය තුලින් නිවන් මග

26 වන කොටස



මෙගෞතම බුදු රජාණන් වහන්සේ වැඩ ඉන්න කාලයේ එක්තරා භික්ෂූන් වහන්සේලා පස් නමක් වැඩ හිටියා. උන්වහන්සේලා වෙන වෙනම එක ඉන්ද්‍රිය බැගින් සංවර කරගෙන ආරක්ෂා කරමින් හිටියා. එක භික්ෂූන් වහන්සේ නමක් ඇස සංවර කරගෙන ඒ අනුව ආරක්ෂා වෙමින් හිටියා. තව භික්ෂූන් වහන්සේ නමක් කන සංවර කරගෙන ඒ අනුව ආරක්ෂා වෙමින් හිටියා. ඉතින් ඔය ආකාරයෙන් මේ භික්ෂූන් වහන්සේලා පස් නම ඇස, කන, නාසය, දිව, ශරීරය කියන ඉන්ද්‍රිය පහ සංවර කරගෙන ආරක්ෂා කරගෙන හිටියා. නමුත් මේ පස්නම අතරෙ වාදයක් හටගත්තා. එක් නමක් කියනවා, ඇස සංවර කරගන්න එකයි අමාරු කියල. අනෙක් භික්ෂුව කියනවා, නෑ කන සංවර කරගන්න එකයි අමාරු කියල. ඉතින් ඒ ඒ අය තමන් වහන්සේලා සංවර කර ගන්න උත්සාහ කරන ඉන්ද්‍රිය තමයි අමාරු කියන තැන හිටියා. මේ වාදය විසඳගන්න බැරුව ලොව්තුරා බුදුන් වහන්සේ ළඟට ගියා. ඉතින් උන් වහන්සේ, එක ඉන්ද්‍රියක් නෙවෙයි මේ පහම සංවර කරගන්න එක අමාරු කාර්යක් බව පවසල මේ ගාථා දෙක දේශනා කළා.

> චක්ඛුනා සංවරෝ සාධු
> සාධු සෝතේන සංවරෝ
> ඝානේන සංවරෝ සාධු
> සාධු ජිව්හාය සංවරෝ

සරල සිංහල තේරුම,

ඇස, කන, නාසය, දිව යන දොරටු සතරට හමු වන රූප, ශබ්ද, ගන්ධ, රස අරමුණු කොට උපදනා ලෝභ, ද්වේශ, මෝහාදී පාප ධර්මයන් කෙරෙන් තමාගේ සිත රැක ගැනීම, සංවර වීම ඉතා යහපත්ය.

> කායේන සංවරෝ සාධු
> සාධු වාචාය සංවරෝ
> මනසා සංවරෝ සාධු
> සාධු සබ්බත්ථ සංවරෝ
> සබ්බත්ථ සංවුතෝ භික්ඛු
> සබ්බ දුක්ඛා පමුච්චති

සරල සිංහල තේරුම,

කයෙන් සිදුවන සතුන් මැරීම, සොරකම් කිරීම, දුරාචාරය යන අකුසලින් දුරුව කය රැක ගැන්ම යහපත්ය. වචනයෙන් සිදුවන බොරු කීම, කේලාම් කීම, පරුෂ වචන කීම, නිසරු තෙපුල් කීම යන අකුසල්වලින් දුරුව වචනය රැක ගැන්ම යහපත්ය. සිතින් සිදුවන දැඩි ලෝභය, ව්‍යාපාදය, මිථ්‍යා දෘෂ්ටිය යන අකුසල්වලින් දුරුව සිත රැක ගැන්ම යහපත්ය. මෙසේ චක්ඛුද්වාර, සෝතද්වාර ආදී සදොරත්, කායාදී තුන් දොරත් (සිත, කය, වචනය) දුසිරිතෙන් වෙන් කොට අවුරා ගැන්ම ඉතා යහපත්ය. එසේ හැම තැන් අවුරා රැක ගත් භික්ෂු තෙම සියලු සසර දුකින් මිදේ.

ඉතින් කෙනෙකුට හිතෙන්න පුළුවන්, කොහොමද ඇස සංවර කරගන්නෙ, එහෙම නැත්නම් කන සංවර කරගන්නෙ කියල. පේන දේ නොබල ඉන්න පුළුවන්ද, ඇහුන දේ ඇහුනෙ නෑ වගේ ඉන්න පුළුවන්ද?... ඔය වගේ නොයෙක් ප්‍රශ්න එන්න පුළුවන්. ඇත්තටම ඇස සංවර කරගන්නෙ කොහොමද? කොටින්ම එක ඉන්ද්‍රියක් එහෙම සංවර කරගන්නෙ කොහොමද? ලොව්තුරා බුදුන් වහන්සේම මේ ප්‍රශ්නයට මනාව පිලිතුරු දීල තියෙනවා.

එක අවස්ථාවක ඒ කාලෙ හිටපු බ්‍රාහ්මණයෙක්ගෙ අතවැසියෙක් වූ උත්තර කියන මානවකයෙක් බුදුන් වහන්සේ හමුවෙන්න ආවා. මේ මානවකයාගෙන් බුදුන් වහන්සේ ප්‍රශ්නයක් ඇහුවා. ඔබගේ ගුරුවරයා ඉන්ද්‍රිය භාවනාව දේශනා කරනවද? ඉතින් මේ මානවකයා, ඔව් ස්වාමීනි එතුමා ඉන්ද්‍රිය භාවනාව අපට දේශනා කරනවා කියල උත්තර දුන්නා. නැවතත් උන් වහන්සේ අහනවා, කොහොමද ඉන්ද්‍රිය භාවනාව දේශනා කරන්නෙ කියල. ඉතින් මේ මානවකයා මෙහෙම පිළිතුරු දුන්නා. එතුමා ඇසින් ලෝකයේ රූප නොබලන ලෙසත්, කනෙන් ශබ්ද නොඅසන ලෙසත් ඉන්ද්‍රිය භාවනාව දේශනා කරනවා.

ලොව්තුරා බුදුන් වහන්සේ නැවතත් ප්‍රශ්න කළා, ඔය කියන විදිහට උපතින් අන්ධ අය, එහෙම නැත්නම් උපතින් බිහිරි අය ඉන්ද්‍රිය භාවනාවේ පරතෙරට ගිය අය වෙන්න ඕන නේද කියල. ඉතින් මේ ප්‍රශ්නයට මානවකයට කට උත්තර නැති වුනා. ඒ නිසා මොකුත් කියන්නෙ නැතුව

බිම බලාගෙන හිටියා. ලොව්තුරා බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට කතා කරල කියනවා, මේ උත්තර මාණවකයගෙ ගුරුවරයා දේශනා කරන ඉන්ද්‍රිය භාවනාවට අමතරව ආර්ය විනයේ ඉන්ද්‍රිය භාවනාවක් තියෙනවා, ඒක ඔය කියන භාවනාවට වඩා බොහෝ වෙනස් එකක් කියල. ඉතින් ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේට ආරාධනා කළා ඉන්ද්‍රිය භාවනාව දේශනා කරන්න කියල. උන්වහන්සේ ලෝකයට ඉන්ද්‍රිය භාවනාව දේශනා කළා.

ආනන්දය, කෙසේ වනාහි ආර්ය විනයෙහි නිරුත්තරවූ ඉන්ද්‍රිය භාවනාව වේද යත් ? ආනන්දය, මේ සාසනයෙහි මහණහට ඇසින් රූප දැක ඇලීම උපදියිද, කිපීම උපදියිද, සිත ඇලීම හා කිපීම උපදියිද, හෙතෙම මෙසේ මට ලෝභය උපන්නේය, ද්වේශය උපන්නේය, ලෝභය හා ද්වේශය උපන්නේය, එය වනාහි ප්‍රත්‍යයන් විසින් කරන ලද්දේය, ඕළාරිකය, හේතුවෙන් උපන්නේය, යම් මේ විදර්ශනෝපේක්ෂාවක් වේද, එය ශාන්තය, එය ප්‍රණීතයයි දනීද, ඔහුට උපන් ඒ ලෝභ සිතද, කෝප සිතද, ලෝභ සිත හා කෝප සිතද නිරුද්ධ වෙයි. විදර්ශනා උපේක්ෂාව මනාව පිහිටයි. ආනන්දය, යම් සේ වනාහි පිරිසිඳු ඇස් ඇති පුරුෂයෙක් ඇස් පිය අරින්නේද, ඇස් ඇර පියන්නේද, ආනන්දය, එපරිද්දෙන්ම යම් කිසිවෙකුට මෙසේ වහා, මෙසේ ඉක්මනින්, මෙසේ පහසුවෙන් උපන් ලෝභ සිතද, කෝප සිතද, ලෝභ සහ කෝප සිතද නිරුද්ධ වෙයි. විදර්ශනෝපේක්ෂාව මනාව සිටී. ආනන්දය, ආර්ය විනයෙහි මෙය ඇසින් දත යුතු වූ රූපාරම්මණයන්හි නිරුත්තරවූ ඉන්ද්‍රිය භාවනාව යැයි කියනු ලැබේ. (ඉන්ද්‍රිය භාවනා සූත්‍රය - සළායතන වර්ගය - උපරිපණ්ණාසපාළි - මජ්ජිම නිකාය)

මෙතනදි නිරුත්තර වූ ඉන්ද්‍රිය භාවනාව කියන්නෙ කටඋත්තර නැති වෙන්නම කෙස්ගහටම පැහැදිලිව විසඳෙනවා කියන කාරණය. ඒ වගේම ඕළාරිකයි කියන්නෙ තදයි, රළුයි කියන එක. ඒ කියන්නෙ ප්‍රබල බලවත් අරමුණු තමයි එන්නෙ. ඊළඟට විදර්ශනා උපේක්ෂාව කියන්නෙ, ඒකෙදි කිසිම දෙයක් අල්ලන්නෙ නෑ කියන එක. ඒ ඒ වස්තුව කෙරෙහි උපේක්ෂාව නෙවෙයි මේ කියන්නෙ. හරයක් නැති මේ ලෝකයේ මොනව අල්ලන්නද? මොනව කරන්නද? කවුරු වෙන්නද? කොහේ යන්නද?.... මේ ආදී වශයෙන් එන අදහස තමයි විදර්ශනා උපේක්ෂාව කියන්නෙ. ඒ කියන්නෙ මේ කිසිම අරමුණකට යන්නෙ නෑ.

දැන් මුලින්ම බලන්න ඕන කාරණයක් තියෙනවා. මොකක්ද මේ ආර්ය විනය කියන්නෙ? ආර්යෙක් කියන්නෙ කවුද? සෝවාන් මාර්ග අනුගාමිකයා, සෝවාන් ඵල ලාභියා, සකෘදාගාමී මාර්ග අනුගාමිකයා, සකෘදාගාමී ඵල ලාභියා, අනාගාමී මාර්ග අනුගාමිකයා, අනාගාමී ඵල ලාභියා, අරිහත් මාර්ග අනුගාමිකයා සහ අරිහත් ඵල ලාභියා කියන පුද්ගලයින් අට දෙනා තමයි ආර්යන් විදිහට සළකන්නෙ. අට්ඨ පුරිස පුග්ගලා කියන්නෙත් ඒ අයට. ඉතින් මේ පුද්ගලයන් අට දෙනා රකින විනයක් තියෙනවා. ඒ තමයි රාග විනය, ද්වේශ විනය සහ මෝහ විනය. සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන් ක්ෂය වූ මට්ටම් අනුව ඒ ඒ මට්ටමින් මේ උතුමන් රාගයෙන් තොරව, ද්වේශයෙන් තොරව, මෝහයෙන් තොරව වාසය කරනවා. උත්සාහයෙන් වීර්යෙන් රකින වතක් නෙවෙයි මේ කියන්නෙ. ධර්මාවබෝධයෙන් ලබාගත්, ඒ අනුව ක්‍රියා කරන, ජීවත් වන විනයක්. මේ විනය තමයි ආර්ය විනය කියන්නෙ.

සෝවාන් ඵල ලාභියාට සතර අපාගත මට්ටමෙන් ඒකාන්තයෙන්ම මිදුන රාග විනයක්, ද්වේශ විනයක්, මෝහ විනයක් තියෙනවා. සකෘදාගාමී ඵල ලාභියාට පංච කාමය සහමුලින් දුරු නොවුනත්, ඒ ගැන දැඩි බලාපොරොත්තු නැති මට්ටමේ රාග විනයක්, ද්වේශ විනයක්, මෝහ විනයක් තියෙනවා. අනාගාමී ඵල ලාභියාට කොටින්ම පංචකාමයට කිසිම ඇල්මක් නැති මට්ටමට රාග විනය, ද්වේශ විනය, මෝහ විනය තියෙනවා. අරිහතුන් වහන්සේ සියලු කෙලෙසුන් නැසූ නිසා රාග විනයෙන්, ද්වේශ විනයෙන්, මෝහ විනයෙන් උපරිමව කල්ගත කරනවා. ඉතින් මෙහෙම විනයකට තමයි ආර්ය විනය කියන්නෙ. මේ ආර්ය විනයට පත්වෙන්න පුළුවන් යම් භාවනාවක් හෝ ඉගැන්වීමක් හෝ ක්‍රියාවක් හෝ තියෙනව නම්, ඒ තියෙන්නෙ බුද්ධ සාසනයේ විතරයි. එහෙනම් මේ ඉන්ද්‍රිය භාවනාවත් බුද්ධ සාසනයෙන් පමණක් දැනගන්න පුළුවන් දෙයක්. මේ අනුව තමයි ඇස, කන, නාසය සංවර කරගන්නෙ.

ඉහත දේශනාවට අනුව, කෙනෙකුට ඇහෙන් රූප දැක්කම වෙන්න පුළුවන් කාරණා තුනක් පෙන්වනවා. ඇලීමක් ඇති වෙන්න පුළුවන්. එහෙම නැත්නම් ගැටීමක් ඇති වෙන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ දෙකම නැති අවස්ථාවක් වෙන්නත් පුළුවන්. තමන් කැමති කෙනෙක් දැක්කම ඇලීම ඇතිවෙනවා. තමන් අකමැති කෙනෙක් දැක්කම නුරුස්සන බවක්, ගැටීමක් ඇති වෙනවා. එදිනෙදා නොදන්න මිනිස්සු ඕන තරම් යනව එනවා. දැක්කම ඇලීමක්වත් නෑ ගැටීමක්වත් නෑ. නමුත් කෙනෙකුට ඇලීමක් හෝ ගැටීමක්, එහෙම නැත්නම් මේ දෙකම රූපයක් දැක්කම ඇති වෙන්න පුළුවන්. එහෙම වෙන්නෙත් මුලාව නිසා. බොහෝ විට වෙන්නෙ ඒකයි. ඒ මොහොත තේරුම් ගන්න පුළුවන් නම්, දැන් මට මේ රූපය කෙරෙහි ලෝභයක් හටගත්ත කියල, අනේ මේ ලස්සන රූපය මට තිබුණ නම් කියන සිතිවිල්ල තමයි ලෝභය කියන්නෙ. තමන් සතුව තියෙන දෙයක් නොදෙන එකම නෙවෙයි ලෝභය කියන්නෙ.

එහෙම නැත්නම්, තමන් නුරුස්සන කෙනෙක් දැක්කම හිතේ තරහක් අපහසුතාවයක් හටගන්නවා. මේකට ද්වේශය කියල කියනවා. මේ කාරණා දෙකම තේරුම් ගන්න පුළුවන් කෙනෙක් ඉන්නව නම්, ආ මට දැන් ලෝභයක් ආවා, දැන් මට ද්වේශයක් හටගත්තා... ඔහොම රූපයක් දැක්ක ගමන් තේරුම් ගන්න, දැන ගන්න පුළුවන් කෙනෙක් ඉන්නව නම්, අන්න ඒ පුද්ගලය තමයි ආර්ය විනයට අනුව ඇස කියන ඉන්ද්‍රිය සංවරව තියාගෙන ඉන්න කෙනා. එතකොට කොහොමද තමන්ට ලෝභයක් හටගත්ත කියල දැන ගන්නෙ? කෙනෙක් අහන්න පුළුවන්, ඒ රූපෙ දැක්ක ගමන් ඔබට ආස හිතුන නේද කියල. අනෙක් කෙනා කියන්න පුළුවන්, ඔව් ඇත්තමයි මට ඒක දැක්ක ගමන් ආස හිතුන කියල. දැන් ඒ කෙනත් ඉන්ද්‍රිය භාවනාව වඩනවද? ඔහුත් දන්නවා, මට ආසාවක් කැමැත්තක් ඇති වුණා කියල, ඔහුටත් තේරුනා. ඒත් එහෙම හිතපු කෙනා ඉන්ද්‍රිය භාවනාව වඩන කෙනෙක් හැටියට ගන්න පුළුවන්ද?

ඉතින් කොහොමද කෙනෙක් දන්නෙ, තමන් මේ වඩන්නෙ ඉන්ද්‍රිය භාවනාවද කියල. එහෙම නැත්නම් ඇස ඇත්තටම

සංවරද කියල. ඉහත සූත්‍ර දේශනාවේ ඊළඟ කොටස බලමු. "හෙතෙම මෙසේ මට ලෝභය උපන්නේය, ද්වේශය උපන්නේය, ලෝභය හා ද්වේශය උපන්නේය, එය වනාහි ප්‍රත්‍යයන් විසින් කරන ලද්දේය, ඖළාරිකය, හේතුවෙන් උපන්නේය..." ආදී වශයෙන් මේ ඇති වුන ආසාව, එහෙම නැත්නම් ලෝභය මට ඇති වුනේ යම් කිසි ප්‍රත්‍යයක් නිසා, මොකක් හරි මගේ ළඟ තියෙන දෙයක් නිසා කියල දැන ගන්නවා. දැන් මේ කාරණය, ඔව් මට ඒ රූපය ගැන ආසාවක් ඇති වුනා කියන එකට ගන්න පුළුවන්ද? මෙහෙම ලෝභයක් හටගන්න මොකක්ද කෙනෙක් ළඟ තියෙන ප්‍රත්‍යය?

චක්ඛුඤ්ච පටිච්ච රූපේ ච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං තිණ්ණං සංගති ඵස්සෝ (ඡක්ක සූත්‍රය - සළායතන වර්ගය - උපරිපණ්ණාසපාළි - මජ්ජිම නිකාය).

මේ බුද්ධ දේශනාවට අනුව කාරණා තුනක් එකට එකතු වුනාමයි ස්පර්ශයක් හටගන්නෙ. එකක් ඇස, අනෙක රූපය, තුන් වෙනි කාරණය ඇස රූපය කෙරෙහි ඇතිවන බැඳීම හේතු කොටගෙන හටගන්න චක්ඛු විඤ්ඤාණය. මේ බැඳීම ඇති වෙන්නෙ කැමැත්ත නිසා. කෙනෙක් කොච්චර නම් රූප බලන්න වට පිට බලන්න කැමතිද කියල දැන ගන්න පුළුවන්, තාවකාලිකව හෝ අන්ධ වුනා නම්. එහෙම නැත්නම් කිසිම ආලෝකයක් නැති කට්ට කරුවල තැනක හිර වුනා නම්. එතකොට කොච්චර බයක් තැති ගැන්මක් අපහසුතාවයක් එනවද කියල තේරුම් ගන්න පුළුවන්. ඉතින් මේ ඇස, රූපය, චක්ඛු විඤ්ඤාණය කියන කාරණා තුන එකතුවෙන් ස්පර්ශයක් හටගන්නවා. ඒ ස්පර්ශය හේතු කොට ගෙන ලැබෙන වේදනාව හේතුවෙන් තණ්හාවක් හටගන්නවා. මේ තණ්හාව හේතු කොට ගෙන උපාදානයක්, ඔය විදිහට භවයක්, අවසානයේ ජාතියක් හටගන්නවා. මේ ජාතිය කියල කියන්නෙ යමක් හටගත්ත කියන එක. මේ හටගත්ත දේ ඉහත කිව්ව ආකාරයට ලෝභයක් වෙන්න පුළුවන්, ද්වේශයක් වෙන්න පුළුවන්. ඒ දෙකටම මුල මෝහය.

ඒ වගේමයි අර ස්පර්ශය හටගත්ත තැන ඉඳන් පසු පසට හිතාගෙන යෑම. ස්පර්ශය නිකං එන්නෙ නෑ, ඒකටත් හේතුවක් තියෙන්න ඕන. ඒ හේතුව තමයි සළායතන. මෙතනදී ඇස අර රූපය ඇතුලට දාගත්තට පස්සෙ ආයතනයක් වුනා. නිකං තිබුන ඇස දැන් චක්ඛායතනය වෙලා. ඇස එහෙම ආයතනයක් වුනේ කොහොමද? ඇයි යමක් බලන්න ඕන වුනේ? එහෙම බලල ගත්ත ඇසුර ගැන කලින් මතකයන් තියෙනවා. ආස්වාදය මතකයි. ඒ නිසා තමයි පෙනුනට නිකං හිටියෙ නැත්තෙ. උවමනාවෙන්ම බැලුවා. නාම රූප කිව්වෙ මේ ටිකට. නාම රූපත් නිකං හිතේ බැහැගන්නෙ නෑ, ඒකට විඤ්ඤාණය හේතු වෙනවා. විඤ්ඤාණයට කොහෙන්ද මේ තරම් තොරතුරු? ඒ අපි ඊට කලින් කරපු සංඛාර නිසා. මේ අවස්ථාවෙදි නම් ඇහෙන් රූප බැලීම. කලින් පුරුද්ද තමයි, තමන් කැමති රූපයක් දැක්කොත් බලනවා සතුටු වෙනවා. අකමැති එකක් දැක්කොත් නුරුස්සනවා, තරහ ගන්නවා. ඔය සංඛාර හොඳයි වටිනවා කියල ගන්න හේතුවක් තියෙනවා. ඒක වෙන්නෙ අවිද්‍යාව නිසා. අවිද්‍යාව හොඳ දෙයක් නෙවෙයි. සසර ගමනට ඉන්ධන සපයන්නෙ අවිද්‍යාව. ඉතින් රූප දැක්ක තැන පටන් ඉහලටයි පහලටයි මේ විදිහට බලන්න පුළුවන් හැකියාව තමයි එක පැත්තකින් ආර්ය විනය කියන්නෙ. හටගත්ත ජාතිය ලෝභ නම්, ඒක වුනේ අවිද්‍යාව නිසා කියල දැනගන්නවා. ද්වේශය නම් ඒකත් එහෙමයි.

ඊළඟ තීරණය, මේ මට ඇති වුන ලෝභය හෝ ද්වේශය, එහෙම නැත්නම් ඒ දෙකම ඇති වුනේ මොන වගේ දේකටද? දැන් රූපය පැත්තෙන් හිතනවා. කලින් දැක්ක රූපය මාලයක් කියල හිතුවොත්, ඒකට දීල තියෙන වටිනාකමක් තියෙනවා. ඒක රුපියල් ලක්ෂ ගණනින් වෙන්න පුළුවන්. ඒක ගන්න කල් හිතින් විඳවනවා. ඒක ගත්තට පස්සෙ රැකගන්න වෙහෙසෙනවා, විඳවනවා. ටිකක් හරි පාට අඩු වුනොත්, අයියෝ ලක්ෂයක් දීල ගත්ත මාලෙ නේද කියල විඳවනවා. කවුරු හරි හොරෙන් ගනීද කියලත් විඳවනවා. මේ විදිහට කොහෙන් බැලුවත් විඳවිල්ලක්මයි තියෙන්නෙ. එහෙම දෙයක් ඇත්තටම වටිනවද කියල අවංකව හිතල, මම ලෝභ වුනේ මේ වගේ දේකට නේද කියල අර ලෝභ හෝ ද්වේශ සිතිවිල්ල සමනය කරගන්නවා. ඒකෙන් හිතට සතුටක් සැනසීමක් එනවා. ඒ සතුට සැනසීම ආවෙ, යම්කිසි දෙයකට ඇති බැඳීමක් අත්හැරල. ඒකෙන් රාගය ක්ෂය වෙනවා, ද්වේශය ක්ෂය වෙනවා, මෝහය ක්ෂය වෙනවා. මේක අයිති රාග විනයට, ද්වේශ විනයට සහ මෝහ විනයට. එහෙම නැත්නම් ආර්ය විනයට.

දැන් ආර්ය විනයට ගැලපෙන ආකාරය, හේතුව දැකල, ප්‍රත්‍ය වෙන හැටි දැකල, ඇස සංවර කරගත්තා. ඒ ක්‍රමය බුද්ධ සාසනයට අයිති ක්‍රමයක්. ඒ අනුව ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළ ආකාරයේ ඉන්ද්‍රිය භාවනාවක් වැඩුව වෙනවා. ඒකට ඇස් දෙක වහගෙන ඉන්න ඕන නෑ. ඕන තරම් රූප පේනවා, නමුත් බලන්න උවමනාවක් නෑ. හිත සමාධියට පත්වෙනවා. නිරාමිස සුවය, එහෙම නැත්නම් හේතු ප්‍රත්‍යය දැකල අතහැරීමෙන් ලැබෙන සැනසීම විඳිනවා. අන්න ඒ පුද්ගලයා චක්ඛුනා සංවරෝ සාධු කියන තැනට සුදුසුයි. ඒ අනුව ඇස, කන, නාසය, දිව, ශරීරය කියන ඉන්ද්‍රියන් දමනය කරගන්න පුළුවන්. සියලු ඉන්ද්‍රියන් සමනය කරගත් ශ්‍රමණ කියන තත්වයට පත්වෙන්න පුළුවන්.

*පූජ්‍යපාද වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළියේ භික්ෂු වර්ගය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**072-7536839**

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 9

# සසර ගනුදෙනු ගැන තවදුරටත්...

තමන් වැඩිපුරම ආදරය කරන දරුවන්, ඒ වගේම සැමියා, බිරිඳ හෝ දෙමව්පියන් කියන්නෙ අන්‍යොන්‍ය සසර ගනුදෙනුවක ප්‍රතිඵලයක් කියන කාරණය සමහර කෙනෙකුට ලොකු ගැටළුවක් වෙන්න පුළුවන්. විශේෂයෙන් තමන් පණ වගේ ආදරය කරන රැක බලා ගන්න දුවා දරුවන්, තමන්ගෙ පෙර ණයකරුවන් කියන කාරණය කිසියම් විමතියක් ඇති කරන්න පුළුවන්. කෙනෙක් කියන්න පුළුවන්, දරුවෙක් ලැබීම කියන්නෙ ජීව විද්‍යාත්මක ක්‍රියාවලියක් මිසක් ඒකට කොහොමද පෙර ණයකරුවෙක් සම්බන්ධ වෙන්නෙ කියල. ඒ වගේම දරුවෙක් ලැබීම අහම්බෙන් සිද්ධ වෙන දෙයක් කියලත් කෙනෙකුට හිතෙන්න පුළුවන්. ඒ නිසා තවදුරටත් මේ අන්‍යොන්‍ය සසර ගනුදෙනු මත ඇතිවන පවුල් සම්බන්ධතා ගැන, පවුල් තුල ඇති වන දුක් කරදර ගැන, දහමට අනුව පැහැදිලි කිරීම තමයි මේ ලිපියේ අරමුණ.



මේ ලෝකයේ කිසිවක් අහම්බෙන් සිද්ධ වෙන්නෙ නෑ. සියල්ලම වෙන්නෙ හේතු සහිතව. අහේතුකව සිද්ධ වන දෙයක් ලෝකයේ නෑ. **අහම්බෙන් කියන පදයේ තේරුම තමයි අ+හම්බ. අසමාන, අලෝභ, අවිද්‍යාව... ආදී වශයෙන් කියන කොට "අ" කියන්නෙ යමක විරුද්ධ පැත්ත. ඒ වගේ හඹු, අහඹු කියන කොට හඹු කියන්නෙ හම්බ වුණා, අහඹු කියන්නෙ හම්බ වුණේ නෑ.** මොකක්ද හම්බ වුණේ නැත්තෙ? හේතුව හම්බවුනේ නෑ. තවත් විදිහකින් කියනව නම් හේතුව දන්නෙ නෑ. එතකොට තමයි අපි පුරුදු වෙලා ඉන්නෙ අහම්බෙන් වුනා කියල කියන්න. අනෙක එක හේතුවක් නෙවෙයි සියල්ලම පාහේ බහු හේතුකයි. බුදු දහම තුලින් හැම වෙලාවෙම යමක හේතුව පෙන්වා දෙනවා. ඒ නිසා තමයි බුදු දහම හේතු ඵල වාදයක් විදිහටත් හඳුන්වන්නෙ. ඒ නිසාම තමයි ලෝකය අනිච්චයි කියන්නෙත්. මොකද ලෝකය ක්‍රියාත්මක වෙන්නෙ අපේ කැමැත්ත අනුව නෙවෙයි. හේතුවට අනුව ඵලයක් විද්‍යමාන වීම තමයි ලෝක පැවැත්මෙදි සිද්ධ වෙන්නෙ.

අද අපි පවුලෙ අය විදිහට එක් රොක් වෙලා හිටියට මේ සියල්ලෝම අනන්ත සංසාරයේ පටන් අම්ම අම්මම වෙලා, තාත්ත තාත්තම වෙලා, පුතා පුතාම වෙලා, දුව දුවම වෙලා ආපු ගමනක් නෙවෙයි තියෙන්නෙ. ආසන්න ආසන්න ගනුදෙනුවක් තියෙනවා. ඒ ගනුදෙනුව අනුව තමයි ඔය පිරිස විපාක ගෙවන්න එකතු වෙන්නෙ. සමහර විට අද තාත්ත ඊළඟ භවයෙදි, අද පුතාගෙ හෝ මුණුබුරාගෙ හෝ පුතා වෙලා ඉපදෙන්න පුළුවන්. ඒ වගේම අද බිරිඳ ඊළඟ භවයෙදි, තමන්ගෙ දුව වෙන්න පුළුවන්. මේ විදිහට පවුල්වලට එකතු වෙන පිරිස බොහෝ විට අත්බැව් කිහිපයක් එකම පිරිස අතර සැරිසරන්න පුළුවන්. එක අත්බවයක තිබුණු නෑදෑකම එතනින් ඉවරයි. පසු අත්බවයක නැවතත් වෙනත් නෑදෑකමක්. මේකෙ ඉවරයක් නෑ. මේ වගේ සමහර වෙලාවට ණය ගන්න එනවා, එක්කො ගත්තු ණය දෙන්න එනවා. සමහරු ඇවිත් ණය වෙනවා. සමහරු ණයට දෙනවා. ඉතින් ඒවා අනාගතයටත් එහෙමම ගෙනියනවා.

දැන් මේ ගනුදෙනු පියවගන්න මොනව හරි සම්බන්ධතාවක් තියෙන්න ඕන. සම්බන්ධතාවක් නැත්නම් ඒක කරන්න බෑ. කිසිම සම්බන්ධතාවක් නැති බාහිර පාර්ශවයක් වුනොත් එහෙම ණය පියවගන්න අමාරුයි. කෙනෙක් බාහිර කෙනෙක්ගෙන් ණයක් හෝ උදව්වක් ගත්තනම් බොහෝවිට තමන්ගෙ ආත්ම ලාභය තකා ණය නොදී හෝ කෘතෝපකාරයක් නොකර ලේසියෙන් මග හරින්න පුළුවන්. ණය හිමියට කරදරයක් වුනත් මග හැරල සද්ද නැතුව ඉන්න පුළුවන්. මොකද විශේෂ සම්බන්ධතාවක් නැති, නෑදෑ හිත මිතුරන් නොවන නිසා ඒක ලේසියෙන් කරන්න පුළුවන්. හැබැයි නෑදෑ හිතමිතුරන්ව එහෙම ලේසියෙන් මග හරින්න බෑ. නෑදෑකමට දුව, පුතා, අම්මා, තාත්තා, සැමියා, බිරිඳ වෙනකොට සම්බන්ධතාවය හරිම බලවත්. එතකොට කර්ම වේගයෙන්ම විශේෂ ලෙන්ගතුකමක්, හිතවත්කමක් ඇතිවෙනවා. විශේෂයෙන්ම ළමයින්ට දෙමව්පියන් සලකන්නෙ තමන්ට පුළුවන් උපරිමයෙන්.

සසරෙදි කාගෙන් හරි ණය අරන් මග හැරල හිටියනම්, දැන් ධර්මතාවයෙන්ම නියම ක්‍රමයක් හැදෙනවා. ඒ ණය, ගෙවිය යුතු සාධාරණ එකක් නම් ණය හිමියා නෑදෑ හිත මිතුරෙක් වෙලා පවුලට සම්බන්ධ වෙනවා. එහෙම වුනාට පස්සෙ පොලියත් එක්ක ගෙවන්න වෙනවා. නමුත් වෙන කෙනෙක් ණය ඉල්ලගෙන ආව නම් එහෙම, අපිට කරදර කරනව කියල පොලිසියේ පැමිණිල්ලක් දානවා. එක්කො මොකක් හරි නඩුවක් දාල බේරෙන්න බලනවා. නැත්නම් දේවාලයකට කෝවිලකට ගිහින් පලි ගහනවා. එහෙම නැත්නම් ඇදුරෙක් අල්ලගෙන කොඩිවිනයක් හරි කරනවා. හැබැයි ණයකාරයා තමන්ගෙ දුව, පුතා විදිහට ලේ උරුමකාරයින් වෙලා ඉපදුනාම නැවතත් මග හරින්න බැරි ක්‍රමයක් හැදිල ඉවරයි. ඒ ක්‍රමයට ආවට පස්සෙ නම් ණය නොගෙව ඉන්න විදිහක් නෑ. දැන් ඉල්ලන්න දෙයක් නෑ. බලෙන්ම දෙනවා. සමහර වෙලාවට බැනුම් අහල ☞

ගුටිත් කාල ගත්ත ණය පොලියත් එක්ක ගෙවනවා. සසර ගනුදෙනු කරල මග හැරපුවා ගෙවන්න කොටුවෙන තැන තමයි මේ. දැන් පැනල යන්න විදිහක් නෑ. ණය ගෙවනව කියල දන්නෙත් නෑ. කැමැත්තෙන්ම ගෙවනවා. මහන්සි වෙලා හරිහම්බ කරන සියල්ල අන්තිමට දරුවන්ට පවරනවා. ගෙවන්න ක්‍රමය හැදිල ඉවරයි. බේරෙන්න බෑ.

සමහර කෙනෙක් මේ කාරණය විස්වාස කරන්න අකමැති වෙන්න පුළුවන්. ඇත්ත තිත්තයි කියන්නෙ මේකට තමයි. අපි ඇත්ත අහන්න දකින්න කැමති නෑ. බොරුවෙන් හදාගත් සුන්දර ලෝකයක ජීවත් වෙන්න තමයි පෘතජ්ජන ලෝකයා කැමති. ඒ මොකද? අනන්ත සසරෙ කළෙත් ඒකමයි. එයින් පිට එකක් ඔවුන්ට ගෝචර වෙන්නෙ නෑ. ඒක ඔවුන්ට හරි ආස්වාදයක්. වේදනා චෛතසිකයට දැනෙන්නෙ ආස්වාදයක් විදිහටම තමයි. හැබැයි ඇත්ත දකින්නෙ ප්‍රඥා චෛතසිකයෙන්. ආස්වාදය දුකට ඇදල දාන මර උගුලක් බව වටහා ගන්න ඕන. හැබැයි මේ කිව්වෙ තමන්ගෙ යුතුකම් ඉටු කරන්න එපා කියල නෙවෙයි. එහෙම වරදවා තේරුම් නොගත යුතුයි. ඇත්ත දැනගත් ආර්යෝ සියල්ලන්ටම වඩා හොඳින් තමන්ගෙ යුතුකම් ඉටු කරනවා. ඔවුන් අයින් කරන්නෙ තමන්ගෙ පිරිස කෙරෙහි ඇති ඡන්ද රාගය විතරයි. ඡන්ද රාගයෙන් තොරව යුතුකම් උපරිමයෙන් ඉටු කරනවා. මොකද ඔවුන් ඇත්ත මොකක්ද, බොරුව මොකක්ද කියල දන්නවා. තමන් ලෝකයට ණය නම් ඒක ගෙවිය යුතු බවත් දන්නවා. උදව්වක් ගත්තොත් ඒකට කෘතෝපකාර කළ යුතු බවත් දන්නවා. ඒ නිසා තමන්ගෙ යුතුකම් පැහැර හරින්නෙ නෑ.

ඇත්තටම තමන්ගෙ දරුව කියල හදාගන්න බලවත් බැඳීම, තමන්ගෙ දෘෂ්ටියක් නිසා හදාගත් එකක් මිසක් ඇත්තක් නෙවෙයි කියල පෙන්වන්න පොඩි උදාහරණයකින් පුළුවන්. අපි හිතමු දරුව හම්බවෙන්න මව ප්‍රසව රෝහලකට ඇතුලත් කළා කියල. ඒ වගේ තැනක එක මොහොතෙ දරුවන් විසාල ප්‍රමාණයක් මෙලොව එළිය දකිනවා. දැන් එතැන ඉන්න කාර්ය මණ්ඩලයේ අත් වැරැද්දකින් දරුවන් දෙන්නෙක් මාරු වෙනවා. කවුරුවත් හිතල, ඕන කමකින් කරපු දෙයක් නෙවෙයි. දැන් ඒ මව්වරු දෙන්නටම තමන්ගෙ දරුව කියල රෝහලෙන් ලැබෙන්නෙ තමන්ගෙ කුසෙන් වදපු දරුව නෙවෙයි. හැබැයි වෙන දරුවෙක් කියල හඳුනගන්න ඉවක් එහෙම ඒ මව්වරුන්ට තියෙනවද? නෑ, දැන් ඒ දරුව තමන්ගෙ කුසෙන් නොවැදුවා කියල ඒ දරුව කෙරෙහි ඇති දරු සෙනෙහසේ අඩුවක් එහෙම තියෙනවද? තව ටික වෙලාවකින් දරුවගෙ පියා, ආච්චි, සීයා ඇතුළු නෑදෑ පිරිස දරුව බලන්න එනවා. ඔවුන් කිසිවෙක් ඒ දරුවා කෙරෙහි දක්වන ආදරයේ වෙනසක් වෙයිද? සමහර කෙනෙක්, අනේ දරුව තාත්ත වගේමයි කියල කියන්නත් පුළුවන්. බොහෝ විට ඉපදුනු ගමන් දරුවන්ගෙ ලොකු වෙනසක්කම් දකින්න ලැබෙන්නෙත් නෑ. මේ වගේ අත්වැරදීම් රෝහල්වලින් ඇත්තටම සිද්ධ වෙන අවස්ථා තියෙනවා. පසුව ඩී.එන්.ඒ පරීක්ෂණවලින් ඒ බව ඔප්පු වෙච්ච අවස්ථාත් තියෙනවා. විශේෂයෙන් ජනගහනය අධික ඉන්දියාව වගේ රටවල මේ වගේ අවස්ථා හරියට දකින්න ලැබෙනවා. ඉතා දියුණු හැටියට සැලකෙන යුරෝපා රටවලත් මේ වගේ සිදුවීම් වාර්තා වෙලා තියෙනවා.

දැන් මේ දරුවො දෙන්නම තමන්ගෙ නියම මව්පියන්ගෙන් වෙන් වෙලා ඇති දැඩි වෙනවා. ඒ දෙමව්පියොත් තමන්ගෙම දරුවො විදිහට රැක බලා ගන්නවා. අපි හිතමු එක දෙමාපිය යුවලකට හොඳට යමක් කමක් තියෙනව කියල. අනෙක් දෙමාපිය යුවල දුක්පත්. දැන් ඒ දරුවන්ට සැලකීම් ලැබෙන්නෙත් ඒ ඒ දෙමව්පියන්ගෙ වත්කම් අනුව. ඒ දරුවන්ගෙ කර්ම වේග අනුවම ඒ සිදුවීම් පෙළ ගැහෙන හැටි හරි පුදුමාකාරයි. මෙතැනදි ඒ දරුවන්ට ඇත්ත දෙමව්පියන්ගෙන් හිමිකම තිබුනෙ මෙලොව එළිය දකිනකල් විතරයි. හදා වඩා ගැනීමේ හිමිකම තිබුනෙ වෙනත් පිරිසකට. හැබැයි දැන් මේ දෙමව්පියො හිතා ගෙන ඉන්නෙ තමන්ගෙ පරම්පරාව ඉදිරියට ගෙනියන්න ආපු තමන්ගෙම දරුවො කියල. තමන්ගෙ දරුවට තියෙන බලවත් ඡන්ද රාගය නිසා සමහර දෙමව්පියො වෙන දරුවන්ට අකටයුතුකම් කරනවා. දැන් මේ වගේ අවස්ථාවකදි නොදැන, සමහර විට තමන්ගෙ ඇත්ත දරුවටම අකටයුතුකම් කරන්න පුළුවන්. ඒක තමයි පෘතජ්ජනයාගෙ සාමාන්‍ය ස්වභාවය.

මේ අන්‍යෝන්‍ය ගනුදෙනු විපාක විදිහට එන්නෙ මනුස්ස ලෝකයේ විතරක් නෙවෙයි, ඒවා තිරිසන් ලෝකයට පවා ගෙනියනවා. ඊළඟ අත්බැව බල්ලෙක් වෙන්න නම් හේතු තියෙන්නෙ, තමන් කිසියම් උදව්වක් කරපු බැල්ලියෙක්ගෙ කුසටම තමයි යන්න වෙන්නෙ. තමන්ගෙ කිසිම සම්බන්ධයක් නැති බැල්ලියකගෙ කුසට යන්න හිමිකමක් නෑ. එහෙම බැල්ලියෙක් නැත්නම් ගනුදෙනුවක් තියෙන බැල්ලියක් එනකල් බලු ගන්ධබ්බයෙක් විදිහට කාලයක් ඉන්න වෙනවා. හැබැයි අනන්ත සසරෙ හදාගත්ත ගනුදෙනු ප්‍රමාණය බැලුවම එහෙම සම්බන්ධයක් නැති බැල්ලියෙක් නැතිවෙන්නෙ කලාතුරකින්.

පරම්පරාවෙන්ම ලෙඩ රෝග උරුම වෙච්ච සමහර පවුල් තියෙනවා. ඒ කියන්නෙ දියවැඩියාව, තැලසීමියාව, සුදු කබර වගේ ආරෙට යන ලෙඩ රෝග. වෛද්‍ය විද්‍යාව අනුව බැලුවොත් කියන්නෙ ජාන තමයි මේ ලෙඩ රෝග එන්න හේතුකාරක වෙලා තියෙන්නෙ කියල. එයින් එහාට දෙයක් පැහැදිලි කරන්නෙ නෑ. ජාන කියන්නෙ ජනිතවෙන න්‍යාය. දැන් ඇත්තටම හේතු ඵල නියමය අනුව මේක පැහැදිලි කරන්නෙ කොහොමද? බොහෝකොටම වෙන්නෙ එකම පවුලෙ අය ඒ කර්ම වේග ගෙවන්න ඒ පවුලටම සම්බන්ධ වීම. ගතියට ගතිය සමාන නිසා තමයි එකට එකතු වෙන්නෙ. ඒක තමයි ගති ආකර්ශනය කියන්නෙ. එතකොට ඒ පරම්පරාව හැදෙන්නෙ අන්‍යෝන්‍ය ගනුදෙනු තියෙන එකම ගති තියෙන පිරිසකගෙන්. ගනුදෙනු පියවෙනකල් ඒ අය දිගින් දිගටම ඒ පරම්පරාවට එකතු වෙනවා. පිටින් පේන්න තියෙන දේ තමයි ජාන සම්බන්ධය. නමුත් ගති සමානතාවය මත තමයි එහෙම වෙන්නෙ. ඒ වගේම එකම පවුල්වල අය එකම හැඩ රුව ඇති වෙන්න හේතු වෙන්නෙත් ගති සමානතාවයෙන්. ඒ කියන්නෙ ගති ගුණයට අදාළ ගති රුවක් තියෙනවා. ඒ අනුව එකම පවුල්වල අයට සමාන රුවක් ඇති වෙන්න හේතු වෙනවා.

ඒ වගේම කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට කාට හරි ළමයි නැත්නම් ඒකට හේතුව ඒ විවාහක යුවලට ණයකාරයො නැති නිසාද කියල. එහෙම වෙන්නෙ ණයකාරයො නැති නිසා නෙවෙයි. මේ ආපු සසර ගමන

තුල අන්‍යොන්‍ය වශයෙන් කෙනෙක් හදා ගන්න ගනුදෙනු ප්‍රමාණය අප්‍රමාණයි. ඒ නිසා අන්‍යොන්‍ය ගනුදෙනුවක් නැති කෙනෙක් ලෝකයේ නෑ. මෙතනදි වෙන්නෙ පෙර කරන ලද අකුසල කර්මයක් ඵල දීම. සසරෙදි අනුන්ගෙ දරුවන්ට හිංගි හිංසා කරල මරල දාල තිබුණ නම්, එහෙම නැත්නම් තමන්ගෙ කුසට ආපු දරුවන් ගබ්සා කරල තිබුණ නම්, ඒ වගේ පාප කර්මයක ප්‍රතිඵලයක් තමයි මේ අත්බවේ කොච්චර උත්සාහ කළත් දරුවන් නොලැබීම. එහෙම නැත්නම් සතුන්ගෙ බිත්තර විනාස කරල ඒවා ආහාරයට අරගෙන, නැත්නම් සතුන්ගෙ පැටව් මරල දාල ඒ වගේ මොකක් හරි හේතුවක් වෙන්න පුළුවන්. ඔවුන්ට ඒ කර්ම වේගය ගෙවෙනකල් දරුවෙක් ලැබෙන්න හේතු නැතිව යනවා.

පසුගිය කලාපයෙන් විස්තර කළා, ලෝකය හටගෙන කාලයක් යන කොට මවකගෙ ගැබට දරුවෙක් ආවෙ කොහොමද කියල. දරුවෙක් ගැබට ආපු මුල් කාලෙදි, එතෙක් කල් නිදහසේ කම් සැප විඳගෙන හිටපු ආදී බ්‍රහ්ම කල්පික මනුස්සයින්ට ඒක හරිම කරදරයක් වුනා. ඒ නිසා මුල් කාලෙදි දරුවො සම්පත්තියක් විදිහට නෙවෙයි සැලකුවෙ, විපත්තියක් විදිහට. හැබැයි ඔහොම කාලයක් යනකොට මනුස්සයා ක්‍රමයෙන් ලෞකිකව තිබුණු අලෝභ, අද්වේශ, අමෝහ තත්වයෙන් පිරිහිලා ලෝභයට, ද්වේශයට, මෝහයට වැටෙන කොට මුලින් හටගත් ස්වයංජාත ඇල් අතුරුදන් වෙන්න පටන් ගත්තා. හැමෝටම පොදුවේ තිබ්බ ආහාරය නැති වුනාට පස්සෙ, මනුස්සයින් තම තමන්ට කියල වෙනම ඉඩම් වෙන්කරගෙන වගා කරල ආහාර සපය ගන්න වුනා. මේ කාලය වෙනකොට තමන්ට වැඩ පල කර ගන්න පිරිසක් සිටීම අවශ්‍යතාවයක් බවට පත් වුනා. දැන් දරුවන් සිටීම මනුස්සයින්ට සම්පතක් වෙන්න පටන් ගත්තා. ඔවුන්ගෙ දරුවන් පිලිබඳ මුලින් තිබ්බ දෘෂ්ටිය වෙනස් වුනා. ඊට පස්සෙ දරුවෙක් තමන්ට නැත්නම් ඒක අඩු පාඩුවක් වුනා, දුකක් ගෙන දෙන කාරණයක් වුනා. මේ කාරණය කෙටියෙන් විස්තර කළාට ඉතා දීර්ඝ කාලයක් තිස්සෙ සිද්ධ වෙච්ච දෙයක්.



අද සමාජයේ පවුල්වල තියෙන සමහර අවුල් ඉතා දුර දිග ගිය, සමස්ත සමාජයටම බලපාන ගැටළු බවට පත්වෙලා තියෙනවා. ඇත්තටම හැම පවුලකම වගේ ඉන්න සාමාජිකයො සසර ගමනෙදි යහපත් දේම කරල ආපු අය නෙවෙයි. යහපත් ඒවා එකක් දෙකක් කරන කොට, අයහපත් ඒවා 99 ක් කරල තමයි ඇවිත් තියෙන්නෙ. ඒ නිසා එහෙම සසර ගමනක් තුල හොඳ දේවල් විතරක් බලාපොරොත්තු වුනාට හරියන්නෙ නෑ. හේතුවට අනුකූල ඵලය ලැබෙනව මිසක්, අපේ කැමැත්තට පවතින ලෝකයක් නෑ. අනිච්චතාවය තමයි හැමෝටම පොදු ලෝක ධර්මතාවය. කාගෙන්වත් නින්දා අපහාස ලබන්නෙ නැති කෙනෙක් වෙන්න ඕන කියල හිතුවොත් ඒක මෝඩකමක්, අවිද්‍යාවෙන් ගන්න තීරණයක්. හැම කෙනාගෙන්ම උදව් උපකාර විතරක් බලාපොරොත්තු වුනත් එහෙමයි. කාගෙන්වත් හිංගි හිංසා නැති ජීවිතයක් ප්‍රාර්ථනා කළාට එහෙම වෙච්ච කෙනෙක් ලෝකයේ නෑ. ලෝකයට ගොඩක් යහපත කරපු අයට සමාජයෙන් විඳින්න සිද්ධ වෙලා තියෙන්නෙ දුක් කරදර. එහෙම අයගෙ ජීවිත බොහෝ විට අවසාන වෙලා තියෙන්නෙ පහර කෑමට ලක්වෙලා. බුදු පියාණන් වහන්සේට පමණයි එහෙම කරන්න බැරි වුනේ. මොකද බුදු පියාණන් වහන්සේ නමක් මරන්න කාටවත් බෑ. ඒක ධර්මතාවයක්. හැබැයි කරන්න පුළුවන් අනෙක් අපහාස ඔක්කොම කළා. එහෙම ලෝකයක් තමයි මේ. ඒ නිසා ලාභය, කීර්තිය, ප්‍රසංසාව විතරක් ලැබෙයි කියල බලාපොරොත්තු වෙන්න එපා. ලෝකය කියන්නෙ එහෙම එකක් නෙවෙයි. ලෝකයේ හැටි හඳුනගන්න. ලෝකයේ අසාරත්වය වටහ ගන්න.

අම්මා හදන්නවත්, තාත්ත හදන්නවත්, සැමියා හදන්නවත්, බිරිඳ හදන්නවත්, දුව පුතා හදන්නවත් යන්නෙ නැතුව, එහෙම නැත්නම් ඔක්කොම එකට නිවන් දකින්න උත්සාහ කිරීම වගේ අනුවණ වැඩ නොකර, දුර්ලභව ලැබිච්ච මනුස්ස අත්බවෙන් උපරිම ප්‍රයෝජන අරගෙන තමන්ගෙ සසර ගමන අවසන් කරගන්න උත්සාහ කරන්න. මොකද තමන් හැදෙන එක තමන්ට කරන්න පුළුවන්. පවුලෙ කවුරුහරි අහන කෙනෙක් ඉන්නවනම් ඒ අයට කියල දෙන්න ඕන. හැබැයි ධර්මාවබෝධය බලෙන් දෙන්න පුළුවන් එකක් නෙවෙයි. බනිනවනම් බැනපුවාවෙ. මොනව කරන්නද? ඉවසන්න පුරුදු වෙන්න ඕන. ඒ අයට පුළුවන් දෙයක් කරල දෙන්න. හැබැයි නිවන් දකින්නෙ අම්මට තාත්තට උදව් කරපු නිසාවත්, දුවට පුතාට උදව් කරපු නිසාවත් නෙවෙයි. ඒවා ලෝකයේ කරන්න ඕන යුතුකම්.

අපි කරන්න ඕන ලෝකෙට බනින එක, දොස් කියන එක, විවේචනය කර කර ඉන්න එක නෙවෙයි. දැනගන්න ඕන, මෙහෙම ලෝකයකද අපි තණ්හාවෙන් බඳාගෙන හදාගෙන ඉන්න යන්නෙ කියල. ධර්මාවබෝධය තුලින් අනිච්චතාවය දැකල ඒ තුලින් ලෝකයේ අසාරත්වය වටහ ගෙන, අවිද්‍යා තෘෂ්ණා දුරු කරල දැම්මොත් ඒක සියල්ලටම වඩා ශ්‍රේෂ්ඨයි. එදාට තමන්ගෙන් නැවතත් ලෝකයට අවැඩක් වෙන්නෙ නෑ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

# නිවන් මග නිවැරදිව තෝරා ගනිමු

අපිට දංවැලක් බලන කොට පේන්නෙ මොනවද? පුරුකට පුරුක එක්වීම නිසා දංවැලක් පේනවා. ඒක රටාවකට ඇමිණිලා තියෙන කොට ඒ ඇමිණීම් රටාව එකක් විදිහට අරගෙන බැලීමේ ප්‍රතිඵලයක් තමයි දංවැලක් විදිහට පෙනීම. කැබලි එක්වීම නිසා තනි කැබැල්ලකට කෙසේ වත් කරන්න බැරි දෙයක් ඇති සේ දුටු නිසා දංවැලක් දැක්ක බව හිතන්න පුළුවන්. ඒ නිසා මේක සකස් වෙච්ච දෙයක් (සංඛතයක්)දැකපු ආකාරය පෙන්වනවා. එහෙම ගත්තෙ පුරුක එකක් විදිහට කල්පනා කිරීමෙන්. ඒක කරගෙන යන වැඩ පිළිවෙළට සංඛාර/සංස්කාර කියල කියනවා. එතකොට ඇස සංඛතයක්, රූපය සංඛතයක්, චක්ඛු විඤ්ඤාණය සංඛතයක්. නියමාකාරයෙන් සංඛතයක් බලන්න නම් චිත්තක්ෂණයක් ඒකකයක් විදිහට අරගෙන බලන්න ඕන. ඒක බලන්නෙ ප්‍රඥාවෙන්. එතකොට එක චිත්තක්ෂණයක් තුළවත් ඒකකයක් නැති බව වැටහිලා අවිද්‍යාව, මුළාව කොහොමද කියල වැටහෙනවා.

මේ ඒකකය කියන එකත් විවිධාකාරයෙන් ගන්න පුළුවන්. චිත්තක්ෂණයක් ඒකකයක් විදිහට ගන්න පුළුවන්. රූපක්ෂණයත් ඒකකයක් විදිහට ගන්න පුළුවන්. චිත්ත වීථියක් ඒකකයක් විදිහට ගන්නත් පුළුවන්. මේ හැම එකකම උත්පාද, ඨිති, භංග කියන අවස්ථා තුනක් තියෙනවා. ඒ වගේ ඒකක කෝටි ප්‍රකෝටි ගණනක් එකතු වෙලා තමයි අපිට යමක් දැනෙන්නෙ. ඉතින් චිත්තක්ෂණ, චිත්ත වීථි කියන අති සියුම් අවස්ථා දකින්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේට විතරයි. හැබැයි ඒක බුදු ඇසින් පැහැදිලි කරල දුන්නම ප්‍රඥාවන්තයින්ට වැටහෙනවා. නැත්නම් සාමාන්‍ය අය නම් යමක ඇහැට පේන්න තියෙන කුඩාම අංශුව තමයි ඒකකයක් විදිහට ගන්නෙ. ඒ විදිහට ඒ ඒ අයගෙ මට්ටම්වලින් ඒකකය අරගන්න පුළුවන්.

දංවැල් පුරුකකින් දංවැලක් කිසි විටෙක නොපෙනෙනව වගේ, චිත්තක්ෂණ පුරුක් කෝටි ප්‍රකෝටි ගණනක් එකතු වෙනකල් රූපයක් බලන්න බෑ. ශබ්දයක්, ගන්ධයක්, රසයක්, ස්පර්ශයක් විදිහට අපි බැහැගෙන ඉන්න සම්මත නිමිති ගන්න බෑ. අපි බලන ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති, උද්දේස ආදිය හෙවත් නාම රූප, හරියට පුරුක් එකතු වෙලා හැදිච්ච දංවැල් වගෙයි. ඒ ඒ වර්ගයන්ට අනුරූපව වැටහෙනවා. මේවාට සංඛත කියන්නෙ ඒ නිසා. ඒ කියන්නෙ සංස්කාරවලින් සකස් කරගත්තු දේවල්. සංස්කාරවල නියම සිංහල වචනය තමයි සංකර. සංඛාර කියන්නෙ පාලියෙන්. සංස්කාර කියන්නෙ සංස්කෘත භාෂාවෙන්. මේ මුළාවෙන් යුක්තව යම්තාක් කල් ගන්නව නම්, බැඳෙනව නම්, ඒවාට ඇලුම් කරනව නම්, ඒ තාක් මේ විඤ්ඤාණයන්



ඇසුරින් මිදීමක් නෑ. අනුරූපයන් මතක සටහන් විදිහට අරගෙන හදා ගෙන ආස්වාද විඳිමින් ඒ සඳහා අවශ්‍ය උපකරණ විදිහට ලොකු කුඩා, පෙනෙන නොපෙනෙන භවයන් ලබමින් අනන්ත අතීතයේ පටන් විඤ්ඤාණ පරම්පරා නිපදවමින් ඉන්නව නම් සහ මේ යථාර්ථය වටහගෙන අත් නොහැරියොත්, නොමිදුණොත්, ඇලුම් කළොත්, මතු කෙළවරකුත් නොදැක සසර දුක් විඳිමින්, ගංගා පුරවන කඳුළු සලමින් මහ මෙර පරදවන දුක් කඳුවල කෲර පහස ලබමින් සසර සැරිසරන්න සිද්ධ වෙනවා.

අපිට කිසි විටෙකත් රූපයක් කියල, අපි දැනට ගන්න සම්මතයන් එක චිත්තක්ෂණයක සිදුවන ක්‍රියාවලියකින් ගන්න බෑ. ඒ වගේම මන වඩන රූපයක් දිහා බලල ඒ රූපයේ හැම තැනම මොහොතක චිත්තක්ෂණයකදි ගන්න බෑ. එක වතාවකදි ගන්න පුළුවන් වර්ණ තිතක් විතරයි. තත්පරයක් (ක්‍ෂණයක්) ඇතුළත කෝටි ප්‍රකෝටි ගණන් චිත්තක්ෂණ පහළ වෙන නිසා, එක චිත්ත වීථියකදි (චිත්තක්ක්ෂණ වලින් හැදිච්ච) එක වර්ණ මාත්‍රය බැගින් ගත්තම චිත්ත වීථිය ගෙවිල අතීතයට යනවා. අපේ මනෝද්වාරයේ පවතින අතීතය අරමුණු කරන ශක්තිය (ස්මෘති) නිසාම, අරමුණක් අරගෙන තත්පර කාලක් හෝ යනකල් අතීත අරමුණු මතකයට නංවගන්න පුළුවන් නිසාම, යම් ක්ෂේත්‍රයක් තුළ තත්පරයකදි හැම තැනම වර්ණ මාත්‍ර තිතක් පාසා චිත්ත වීථි සිය දහස් වරක් යොමු කරන්න පුළුවන් නිසාම, හිත බැඳෙන රූපයක් හිතින් සකස් කර ගන්න (මනසිකාර), මවා ගන්න හැකියාව අපට තියෙනවා. මේ විදිහට සකස් කරගත් හැම මායා දර්ශනයක්ම රූප කියල ඇසුරු කරන නිසා, රූප සංඛතයක් ඇසුරු කරනව කියල කියනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේවාත් සංස්කාරවලින් ගොඩනැගිල සංඛත වෙන හැටි මේ විදිහට තේරුම් ගන්න ඕන.

මේ විදිහට යථාවබෝධයෙන් මායා රටාවන් වටහගෙන ඇල්ම අත්හැරියම බලනවා, අහනවා... ආදී වශයෙන් ඇලුම් කරන, ආස්වාද ලබන සිතකින් කරන කටයුතු නිරායාසයෙන්ම නතර වෙනවා. ඒ තමයි සසර ක්‍රියාකාරී ගමන ක්‍රමයෙන් නවතින හැටි. නමුත් ඇහෙනවා, පෙනෙනවා... යනාදී ක්‍රියා රටාවන්ට අනුව වැටහීම, ලැබිච්ච භවය තියෙන කල්ම පවතිනවා. එතකොට නැති වෙන්නෙ ඒවාට තියෙන ඡන්ද රාගය විතරයි. ඒ වැටහෙන විපාක මතු උපතකට හේතු වෙන්නෙ නෑ. මොකද ඒවා විපාක වින්දන මිසක් ගොඩනගන සංඛාර නොවන නිසා.

මේ විදිහට කරුණු පෙන්නුවත් රාග, ද්වේශ, මෝහ සිත් තියේනම් ඒ සිත්වල නුවණ නැති නිසා, සතිය නැති නිසා තේරුම් ගන්න බෑ. ඒ නිසා ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් අලෝභ, අද්වේශ, අමෝහ වූ පින් සිත් පහළ කරන කර්මස්ථාන වඩමින් ඒ යහපත් සිත් උත්සාහයෙන් පහළ කරගන්න ඕන. ☞

බුද්ධානුස්සති, ධම්මානුස්සති, සංඝානුස්සති ආදී භාවනාවන් හා එබඳු ආර්ය ඇසුරත්, තෙරුවන් වැඳීම, දාගැබ් බෝධි පිහිටුවීම, දානමාන දීම, ආගමික වතාවත් කිරීම ආදියත් ප්‍රයෝග සම්පත්තියෙන් දහම් වටහා ගැනීමට හිත හැඩගසා ගන්න මාර්ගයන්. මේ කාරණය නොදත් සමහරු, මේ ධර්මය ප්‍රඥාවන්තයන්ටයි, මෝඩයන්ට නෙවෙයි කියමින්, අනුගමනය කළ යුතු මූලධර්ම කෙරෙහි උකටලී වෙනවා. සමහරු මල් පහන් පූජා කිරීම්, වන්දනාමාන කිරීම් ආදිය මෝඩ බෞද්ධයන්ගෙ වැඩ කියල ඒවාට පහර ගහමින් සමච්චලයට ලක් කරනවා. තවත් සමහරු, පින් කරන්නෙ දෙව්ලොව යන්න ඕන අය, අපි ඒ මග නෙවෙයි යන්නෙ, අපි යන්නෙ ඒකායන මාර්ගය වූ සතිපට්ඨාන මාර්ගයේ... ආදී කතා කියමින් භාවනා කරමින් පාප සිත් තවන්න උත්සාහ කරනවා. නමුත් මේ එකක්වත් දහම් අවබෝධය ලැබිච්ච අයගෙ ප්‍රකාශ නෙවෙයි. හේතුඵල නොදැක කරන කියන මේ වගේ ප්‍රකාශ, ධර්මයට එකඟ නොවන අතර ඒ ඒ අය විවිධ දෘෂ්ටිවල එල්බ ගෙන කරන අතාර්කික ප්‍රකාශයන්.

තමන්ට රාගය එනවද නැත්ද කියල තමන්ම නිගමනය කරන්න ඕන. ද්වේශ සිත් පහල වෙනවද කියල තමන්ම නිගමනය කරන්න ඕන. මේ ගැන කියන කොටම ''මම නම් කිසි කෙනෙක් එක්ක තරහ නෑ, මම හැමෝටම මෛත්‍රී කරනවා, මට නම් ගෑනු පේන්න බෑ. හිරිකිතයි. මට නම් පිරිමි පේන්න බෑ. හිරිකිතයි...'' ආදී වශයෙන් මේ වගේ කතා කියන අයත් බොහෝ ඉන්නවා. කලබල නොවී හිතන්න ඕන ''මම හොඳ කෙනෙක්, මම මහ පින් ඇති කෙනෙක්, මම හරි සිල්වත්'' කියන මේ වගේ අදහස් අපට නොපෙනී අපි ළඟ තියෙන සැඟවුණු පුහුමානය මතුකරන බව. තවත් කෙනෙක් ''මම නම් දැන් මගඵල ලබල ඉන්නෙ, අපි ළඟ විතරයි මගඵල තියෙන්නෙ, ඔය බණ අනිත් අයට නම් හොඳයි, අපට නම් වැඩක් නෑ'' මේ ආදී වශයෙන් කියන්නත් පුළුවන්. ඒකත් සැඟවුණු මාන්නයක්ම තමයි. ඒ අතර ආර්ය අෂ්ටාංගික මග කියන්නෙ ශරීරයේ තියෙන සිදුරු අටක් කියල, ඒ සිදුරු අට වහල දම්මම නිවන් දකිනවයි කියන උදවියත් ඉන්නවා. ඒ වගේම හිතන්නෙ නෑ, කියන්නෙ නෑ, කරන්නෙ නෑ, මේ එකක්වත් නොකෙරුවම ඒක තමයි නිවන් මග කියන අයත් ඉන්නවා. හැබැයි ඔය කියන අය ළඟට ගිහින් නිවන් මග පිළිබඳව කරුණු කාරණා විමසුවොත්, උත්තර දෙන්න බැරි නම් සමහර විට සුද්ධ සිංහල භාෂාවෙන්ම අහගෙන තමයි එන්න වෙන්නෙ. අන්තිමට මේ ශ්‍රී සද්ධර්මය මෙච්චර ප්‍රමාණයකින් හරි රැකගෙන ආපු අපේ උතුම් ථේර පරපුරටත් අපහාස කරල තමයි නවතින්නෙ.

සසර පින් කරල, ලෝභ නැති, තරහ නැති, මෝඩ නැති හොඳ බලවත් පිනක් පල දීල, ඒ පින් සිතින් ඉපදිලා මේ අත්බවය ලබල තියෙනව නම්, බුදු දහම වටහ ගත්තොත් ඒ පුද්ගලය හිතනවා, මම තවම රහත් වෙලා නෑ, මටත් හොරෙන් මා ළඟ සැඟවිලා තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, සිතිවිලි කියන මේවාට තියෙන ආසාව නිසා මගේ හිත කොච්චර දුවනවද, ඒවාට ආස නිසා නේද ඒ වගේ දේට හිත යන්නෙ කියල. ඒ වගේම ඒ ආසා කරන දේවල් නොලැබෙනකොට, මම නොදැනුවත්වම මගේ මුහුණ හැකිළෙන, හිත කීරි ගැහෙන දේවල් කොච්චර නම් වෙනවද කියලත් හරියට හිතන කෙනාට වැටහෙනවා. තමන්ට එහෙම දෙයක් නැතිම නම් කලබල නොවී විනාඩි පහක් මොකුත්ම නොහිතා ඉන්න පුළුවන්ද බලන්න. එතකොට වැටහේවි, එහෙම ඉන්න බැරි බව.

ඊළඟට කල්පනා කරල බලන්න තමන්ට මොනවද හිතුනෙ කියල. ඒ වෙලාවෙදි හිතට වැද්දගත් අරමුණු අල්ලල සිහි කරල බලන්න, ඒක වැටෙන්නෙ රාග ගොඩටද, ද්වේශ ගොඩටද කියල. මේ දෙකම නැතිව බයක් ආව නම්, සැකයක් හිතුන නම් තීරණය කරන්න, එහෙම වුණේ මෝහ සිතකින් අරමුණු ගැනීම නිසා කියල. ඊළඟට බලන්න බුදු ගුණ ගාථාව කිය කියා ඉඳල හිත වෙන අරමුණකට යන්නෙ නැතිව හොඳට පැහැදිලිව බුදු ගුණය කෙරෙහි පිහිටනවද කියල. එතකොට වැටහේවි, මගේ මෝඩකමටයි මම පිරිසිදුයි සිල්වත් කියල මෙච්චර කල් හිතාගෙන හිටියෙ, මම තව කොච්චර දුර්වලද කියල. හැබැයි ඒ විදිහට තේරුණා නම් ඒ පුද්ගලයට මේ බුද්ධ සාසනයේ දොර ඇරෙනවා. වරද දැක්කම සංසාර බය ඇතිවෙනවා. අප්‍රමාදව නිවන් මග වඩන්න හිතෙනවා.

දැන් ඒ මග හොයාගන්න ඕන කරනවා. ඇලෙන ගැටෙන ගති තියෙනව නම් ඉහළම කර්මස්ථානයක් වඩන්න, එහෙම හිත පිරිසිදු කරන්න බුදු රජාණන් වහන්සේටත් බෝසත් අවස්ථාවෙ බැරි වුණා. එහෙම කරන්න බැරි වුණ නිසා උන්වහන්සේ එදා බෝසත් අවස්ථාවෙදි ඒක කරන්න පුළුවන් ලේසි ක්‍රමයක් තෝර ගත්ත කියල උන්වහන්සේම දේශනා කරල තියෙනවා. රාග අරමුණක් එනව නම් රාගයේ ආදීනව නිතර මෙනෙහි කරන්නත්, විරාගික බවේ ආනිසංස මෙනෙහි කරන්නත් ඕන කියල තේරුම් අරගෙන, ඒ ක්‍රමය අනුගමනය කරලයි මමත් පවිත්‍ර හිත ලබා ගත්තෙ කියල උන්වහන්සේම දේශනා කරල තියෙනවා. අපි උන්වහන්සේගෙ සිව් පිරිසට අයත් දරුවො නම් ඒ මගම ගන්න ඕන. එතකොට බලා ඉඳෙද්දිම හිත පිරිසිදු වෙනවා.

ඒ වගේම ද්වේශය සහිත අරමුණු එනව නම්, ද්වේශයේ ආදීනව බලමින් ශාන්තියේ ආනිසංස මෙනෙහි කරන්න ඕන. මේ කටයුතු ඉතාම ලේසියෙන් කරන්න පුළුවන් ක්‍රමයක් තියෙනවා. ඒ තමයි කල්‍යාණ මිත්‍රයන් සමග රාග, ද්වේශ, මෝහයන්ගේ ආදීනව සහ රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් තොර තත්ත්වයන්ගේ ආනිසංස කියන මේවා පිළිබඳ නිතර කතා කිරීම, සාකච්ඡා කිරීම, දේශනා ශ්‍රවණය කිරීම. මේවා සියල්ලම අඩංගු වෙන්නෙ බුදු දහම තුළ. මේ විදිහට බණ අහන, සාකච්ඡා කරන, දේශනා කරන, සජ්ජායනා කරන හැම විටම සංවරය පුරුදු කරන අයට සතර දැහැන් වැඩෙනව කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. (අංගුත්තර නිකාය 2, 47 පිටුව ද්විතීය උරුවේලා සූත්‍රය) මේ විදිහට සංවර වෙන ගමන්, පටිච්ච සමුප්පාද දහම් නියාමයට අනුව දේශනා කරන බණ අහනකොට ඉතා පහසුවෙන් මගඵල ලැබෙනවා. දැහැන්, මගඵල ලබන්න පහසුම මග නිතර බණ අසමින්, දෙසමින් සංවරව හික්මීම. හැබැයි සෝවාන් වෙන්න බණ අහන්න ඕන ධර්මාවබෝධය ලැබුව කෙනෙක්ගෙන්මයි. එයින් ඉහළ ඵල ලබන්න ඒක අත්‍යවශ්‍ය නෑ. මේ තමයි බුද්ධ කාලයේ නිවන් දැකපු හැටි.

ඊළඟට බලන්න ඕන, පළමුව අනුමානයෙන් නිවන් වටහා නොගෙන නිවන් මග වඩන්න පුළුවන්ද කියල. කෙනෙක් දන් දෙනවා, සිල් වත් රකිනවා, සමහර විට භාවනාත් කරනවා, බුදුන් වඳිනවා, තිසරණ සමාදන් වෙනවා. භික්ෂු, ☞

භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව් පිරිස අතරෙ කෙනෙක් විදිහට පෙනී ඉන්නවා. බණ අහනකොට, පින් දෙනකොට, අන්තිමට නිවන් දකින්වා කියන කොට මහත් වූ සාධුකාර දෙනවා. ''අනේ අපි පිං කරල මදි, නැත්නම් බුදුහාමුදුරුවො අපි දැකලත් ඇති, මගේ නම් බලාපොරොත්තුව මේ ආත්මෙම නිවන් දකින්න'' මෙහෙම කියන අයත් අද ඉන්නවා. ඔවුන් අතර සමහර අය මාර්ගඵල ලාභීන් බවත් හිතාගෙන ඉන්නවා. නැත්නම් ඒ බව ප්‍රකාශ කරනවා. **බුද්ධ දේශනාව අනුව නම් මගඵල ප්‍රකාශ කරන අය කොටස් 4 ක් ඉන්නවා.** ඒ බව අඤ්ඤාභ්‍යාකරණ සූත්‍රයේ (අං. නි. 3 - 190 පිටුව) සඳහන් වෙනවා. ඒ තමයි,

1. මුලා පුද්ගලයා රැවටිලා තමන් මගඵල ලාභී කියල ප්‍රකාශ කරනවා.
2. ලාමක ඉච්ඡායෙන් වැඩුණු පුද්ගලයා ලාභ, කීර්ති, ප්‍රසංසා තකා මගඵල ප්‍රකාශ කරනවා
3. පිස්සා පිස්සුවට තමන් මගඵල ලාභී කියල ප්‍රකාශ කරනවා.
4. යථාර්ථයෙන්ම මගඵල ලැබූ සත්පුරුෂයා සුදුසු තැන සුදුසු කාලයේ සුදුසු නම් වක්‍රව හෝ සම්පූර්ණයෙන් හෝ මගඵල ප්‍රකාශ කරනවා.

මේ දෙවෙනි කොටසට වැටීම ඉතා භයානකයි. උපසම්පදා භික්ෂුවක් නම් පාරාජිකාවට අහු වෙනවා. එතනදි සිද්ධ වෙන්නෙ දැන දැනත් වටිනා ගුණයක් තමන්ට නැතිව, නමුත් එහෙම තියෙනව කියල ගුණයට අපහාස කිරීමක්. නැත්නම් තමන්ට නැති ගුණයක් මවා පෑමක්. අනුන් රවටල තමන්ට ලාභ කීර්ති ප්‍රසංසා බලාපොරොත්තුවෙන්මයි එහෙම කියන්නෙ. ගිහි පැවිදි කවුරු කළත් ඒක මහ පාපයක්. ඒ හේතුවෙන් මරණින් මතු අපාගත වෙන්නත් පුළුවන්. මොකද සාසනය විකුණගෙන කෑමක් එතැන තියෙන්නෙ.

සාසනය කෙරෙහි පැහැදිලා යමක් දෙන කොට ඒක පුද්ගලික කර ගන්න, ඒකෙන් ලාභ කීර්ති ප්‍රසංසා විඳින්න බලාපොරොත්තු වෙනව නම් ඒක ඒකාන්තයෙන්ම පාපයක්. මොකද කෙනෙක් තමන් මගඵල ලාභියෙක් කියල ප්‍රකාශ කළාම, තවත් **කෙනෙක් ඒ පුද්ගලයට යමක් දෙන්නෙ, ගරු කරන්නෙ සාසන ගුණ කෙරෙහි පැහැදීමෙන්.** එහෙම නැතුව නිකං දෙන්නෙ නෑ. කෙනෙක් තමන් මගඵල ලාභියෙක් කියල කිව්වම, ඒක විස්වාස කරන කෙනා, අපිටත් පිනක් සිද්ධ වෙනවනෙ කියල ඒ පුද්ගලයා ජීවත් කරවන්න මොනව හරි උදව් උපකාර කරනවා. එතකොට ඒ උදව් උපකාර බුද්ධ සාසනය කෙරෙහි පැහැදීමෙන්මයි දෙන්නෙ. නමුත් ඒ පුද්ගලය ළඟ එහෙම ගුණයක් නැතිව කපටිකමට



කිව්ව නම් ඒක මහ පාපයක්, සාසනයේ මුවාවෙන් කරන බඩ වඩා ගැනීමක්. ඒ වගේ අවස්ථාවකදි කටින් කියන්නම ඕනත් නෑ. වක්‍රව ඇඟෙව්වත් ඇති.

ඊළඟට මුලාවට පත් වෙච්ච පුද්ගලයා තමන්ම රැවටිලා මගඵල ප්‍රකාශ කරන කොට, ඔහුට අනුන් රවටන චේතනාවක් නෑ. රැවටීම නිසා තමන් හරියි කියල හිතාගෙනයි ඔහු එහෙම කියන්නෙ. ඒ පුද්ගලයට අර වගේ බරපතල පාපයක් නෑ. හැබැයි එහෙම වෙන්නෙත් පෙර සසරෙ කවද හරි අනුන් මුලා කරපු එකේ හේතු ඵලයක් විදිහට, විපාකයක් විදිහට. ඉතින් මුලා වෙච්ච කෙනෙක් නිකං ඉන්නෙ නැතිව, තවත් අය මුලා කරනව නම්, පිරිසක් ඒ සඳහා මෙහෙයවනව නම්, තව තවත් මුලාවෙන් මුලාවට පත් වෙනවා. ඒක තමයි ඒකෙ විපාකය. ඉතින් ඒ වගේ අවස්ථාවකදි දහම ගැන දන්න කියන අය ඒ පුද්ගලයට ධර්ම දේශනා කරල යථාර්ථය පෙන්වා දෙන්න ඕන. ඒ සම්බන්ධයෙන් ප්‍රශ්න අහන්න ඕන. ස්කන්ධ, ධාතු, පටිච්ච සමුප්පාදය ආදිය ගැන අහල බැලුවම, ඒ අය ලබපු ඵලය ගැන විග්‍රහ කරන කොට ඒක මුලාවෙන් කියපු එකක් නම් එතැනම හිර වෙනවා. කියන්න දෙයක් නැතිව යනවා. ඉතින් එහෙම දැන ගන්න අහන්නෙත්, තමන් දන්න කියන භාෂාවකින් මිසක් පාලි භාෂාවෙන් හෝ සංකීර්ණ වචන හෝ යොදා ගෙන නෙවෙයි. එතකොට තමන්ට වැටහිච්ච හැටි කියල දෙන්න ඕන. එහෙම ප්‍රශ්න අහල පැහැදිලි කරල දුන්නට පස්සෙ ඒ පුද්ගලයා ඒක පිළිගන්නව නම් ඔහුට ගැළවීමක් තියෙනවා. නැත්නම් ඉතින් තවත් මුලාවට පත් වෙන එකයි වෙන්නෙ. හේතු වාසනා නැති කමින්, පෙර අනුන් රවටපු හේතුවෙන් තමයි එහෙම වෙන්නෙ. ඊළඟට පිස්සා පිස්සුවට මගඵල ප්‍රකාශ කරන කොට චේතනා පිහිටන්න තරම් බලවත් නැති නිසා ඇවැත් නෑ. නමුත් පිස්සුව කියන්නෙත් විපාකයක්.

ඉතින් අද මගඵල ලාභීන් කියල ප්‍රකාශ කරන බොහෝ අය මේ කොටස් හතරෙන් මොන කොටස්වලට වැටෙනවද කියල හොයල බලන කොට, ඒකට ලැබෙන පිළිතුර නම් සතුටු වෙන්න පුළුවන් පිළිතුරක් නෙවෙයි. නමුත් ඒ අතර හතරවනුව සඳහන් කරපු ආකාරයට සැබෑ මගඵල ලබපු උත්තමයොත් නැතුව නෙවෙයි. මීට පෙර අන්තරා පරිනිබ්බායී උත්තමයින් ගැන සඳහන් කරපු ලිපියකින්, සැබෑ ආර්ය උත්තමයන් වහන්සේ නමක් සසර ගමන කෙළවර කරපු හැටි සඳහන් කළා. ඒ අවස්ථාවෙදි උන්වහන්සේ ඒ බව ප්‍රකාශ කරපු ආකාරය දැන ගන්න ලැබුණෙ මේ විදිහට.

අපවත් වෙන්න දින කිහිපයකට උඩදි උන්වහන්සේ තමන්ගෙ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලා කැඳවල ප්‍රකාශ කරල තිබුණෙ, මම නම් මගේ වැඩේ කර ගත්තා, නුඹලත් නුඹලගෙ වැඩේ නොපමාව කර ගනිල්ල කියල. මේ තමයි හතරවනුව සඳහන් කළ ආකාරය. ඒ කියන්නෙ සුදුසු තැන සුදුසු කාලය ආවම සුදුස්සාට සුදුසු විදිහට වක්‍රව ප්‍රකාශ කරල උන්වහන්සේ නිහඬ වුණා. ඒ විදිහට වක්‍ර අන්දමින් අවසාන මොහොතේ මගඵල ප්‍රකාශ කරපු උන්වහන්සේගෙ ශරීරය ආදාහනය කළාට පස්සෙ ශරීරයේ විශේෂ අස්ථි කොටස් නොදැවී තිබ්බ නිසා, ඒ ගැන නොදැනීමෙන් දින

දෙකක් පොල් කටු අඟුරු සමග දවල බැලුවත් ඒ විදිහටම ඉතිරි වෙලා තිබුණා. අද කාලයේ විවිධ මති මතාන්තර මතු වෙන නිසා ඒ ගැන මීට වඩා විස්තරයක් සඳහන් කරන්නෙ නෑ.

මේ කාරණාව සඳහන් කළේ, අද වෙන කොට මතභේදයට තුඩු දීල තියෙන දහම් කාරණාවක් මතු කරල පෙන්වන්න. මොකද සමහරු කියනවා මගඵලවලට පත්වුණාම ප්‍රකාශ කරන්නෙ නෑ, එහෙම ප්‍රකාශ කිරීම බුදුන් වහන්සේ තහනම් කළා කියල. නමුත් මේ හතරවනුව සඳහන් කළ ආකාරයට **මගඵල ප්‍රකාශ කිරීම එදා බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලෙදිත් සිද්ධ වෙච්ච බවට ඕන තරම් සාධක ත්‍රිපිටක ධර්මය තුළින්ම සොයා ගන්න පුළුවන්.** විශේෂයෙන් සංයුක්ත නිකායේ සෝතාපත්ති සංයුක්තයේ එන සරකානි වර්ගයේ මේ හතරවනුව සඳහන් කළ ආකාරයට තමන් කැමති නම් මගඵල ප්‍රකාශ කරන්න පුළුවන් බව පැහැදිලිව පෙන්වා තියෙනවා. හැබැයි මේක ඉහත සඳහන් කළ 1, 2, 3 කොට්ඨාසයන්ට ගැළපෙන්නෙ නෑ.

සතර සතිපට්ඨානය නිසි පරිදි හරියාකාරව වැඩුවොත් හත් දින පටන් හත් වසර දක්වා කාලය තුළ මගඵල ලබන්න පුළුවන් බවත්, උපධි ශේෂය තියෙන කොට අනාගාමී බව හෝ පූර්ණව නම් රහත් ඵලය හෝ ලබන්න පුළුවන් බවත් දේශනා කරල තියෙනවා. උපධි ශේෂය කිව්වෙ පටිඝ, මාන, උද්දච්ච, අවිද්‍යා කියන මේවායේ ශේෂය හෙවත් අනුෂය. අනාගාමී වෙනකොට පටිඝ අනුෂයත් බිඳෙනවා. එතකොට ඉහත සඳහන් කළ නිවන් බලාපොරොත්තු වන අයට යමෙක් මෙහෙම කිව්වොත් දෙන උත්තරය කොහොම වෙයිද?

''තමන්ගෙන් ඉටුවෙන්න තියෙන ගිහි කටයුතු අපි විසඳන්නම්, තමන්ගෙ පවුලෙ අයත් ඒකට එකඟව කැමැත්ත ප්‍රකාශ කළා නම් ඔබ ගිහින් අප්‍රමාදව නිවන් දකින්න උත්සාහ කරන්න. ගෙදර එන්න අවශ්‍ය නෑ, දැන් යන්න.''

දැන් කෙනෙක් මෙහෙම කිව්වොත් ගන්න පියවර මොකක්ද කියල තමන්ම කල්පනා කරල බලන්න. විශේෂයෙන් මාර්ගඵල ලබල තියෙනව කියල හිතන අය එහෙම බැලුව නම් හරිම වැදගත්. මෙහෙම බලන්න කියන්නෙ කාටවත් කියන්න නෙවෙයි, අපහාසයකටත් නෙවෙයි. තමන් රැවටිලා ඉන්නවද, නැත්නම් නිදහස දැකපු කෙනෙක්ද කියල දැනගෙන හරි මගට පිවිසෙන්න. මොකද මේ කාලය වෙන කොට විවිධාකාරයෙන් තමන් මගඵල ලාභී කියල ප්‍රකාශ කරමින් විවිධ සංවිධානත් ගොඩනගා ගෙන පිරිස් එකතු කරන අයත් නැතුව නෙවෙයි. ඒ අතර රහත් ඵලය ප්‍රකාශයට පත් කළ අයත් අහන්න ලැබෙනවා. හැබැයි එහෙම කියපු සමහර උදවිය මියගිහින් බලන කොට පිරිනිවන් පාලත් නෑ. අඩුගානෙ සුගතියකට ගිහිල්ලත් නෑ. ඒ වගේ සමහර අය අභව්‍ය ස්ථානවල දුක් විඳින ආකාරයත් සමාධි වඩපු අයට හසු වෙලා තියෙනවා.

ඉතින් හැබෑවටම මගඵලවලට පත්වුණා නම් එහෙම වෙන්න පුළුවන්ද? අන්තිමට මොකද වෙන්නෙ, එහෙම කියපු අය තමනුත් අමාරුවෙ වැටිල තමන් ගුරුහරුකම් දුන්න අන්‍ය පිරිසත් අමාරුවෙ දානවා. ඒ නිසා වටිනා දහම් අරුත් සැඟවිලා මහා පැටලිලි සහගත තත්ත්වයකට පත්වෙලා තියෙන මේ කාලයේ, බොහොම ප්‍රවේසමෙන් බුදුන් වහන්සේ දේශනා කළ නිර්මල දහම තෝර බේර ගන්න පින්වතුන් සැලකිලිමත් වෙන්න ඕන. **තමන් මගඵලවලට පත් වුණා කියල අන් අයට අභියෝග කරමින් අනුන්ට බැණ වැදීම හෝ ගැරහීම මගඵල ලාභියෙකුට තියා සිල් වතක් පුරන අයෙකුටවත් ගැළපෙන්නෙ නැති බව තේරුම් ගන්න මහා ඥානයක් අවශ්‍ය නෑ.** මහා දැනුමක් අවශ්‍යත් නෑ. ඒක සාමාන්‍ය බුද්ධියෙන් තේරුම් ගන්න පුළුවන් දෙයක්. මෙතනදී යමක් ඇසුරු කරන කොට ලෝභක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වෙනව නම් ඒක බුද්ධ දේශනාව විදිහට ගන්න කියලත්, එහෙම නැත්නම් බුද්ධ දේශනාව විදිහට නොගන්න කියලත් කරපු උතුම් බුදු වදන යළි සිහියට ගැනීම වටිනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඔබ ප්‍රඥාවන්තයෙක්ද?

**ශ්‍රාවක :** බුදු දහම ප්‍රඥාවන්තයින්ට විතරයි කියන්නෙ ඇත්තද?

**දේශක :** ඔව්. අංගුත්තර නිකායේ 5 වන කාණ්ඩයේ 136 පිටුවේ එන අනුරුද්ධ සූත්‍රයේ විස්තර කරල තියෙන්නෙ ඒ ගැන තමයි. ඒකට ඉතිං හේතු කිහිපයක් පෙන්වන්න පුළුවන්. අංගුත්තර නිකායේ පළවන කාණ්ඩයේ 337 පිටුවේ එන කාලාම සූත්‍රයෙත් පෙන්වා තියෙන්නෙ, මේ දහම තමන්ම දැනගන්න ඕන එකක් කියල. ඒ විතරක් නෙවෙයි, කවුරුවත් කිව්ව පලියට පිළිගන්න එපා, තර්ක කරල පෙන්නුවත් පිළිගන්න එපා, පරම්පරාවෙන් ආවත් පිළිගන්න එපා කියලයි පෙන්වා තියෙන්නෙ. ඒ විදිහට පිළිගන්නෙ නැතිව තමන්ම දැනගන්න නම් ඒකට ඉතිං ප්‍රඥාවක් තියෙන්න ඕන බව පැහැදිලියි.

**ශ්‍රාවක :** මම කොහොමද දැනගන්නෙ මම ප්‍රඥාවන්තද නැත්ද කියල?

**දේශක :** ඒ ගැන විස්තර ගොඩක් ත්‍රිපිටකයේ සූත්‍රවල තියෙනවා. ඒ ගැනත් විස්තර කරල දෙන්නම්. අපි හැමෝම සාමාන්‍යයෙන් දන්න දෙයක් තමයි ඇහෙන් රූප බලල දැන ගන්නවා, කනෙන් ශබ්ද අහල දැන ගන්නවා, නාසයෙන් ගඳ සුවඳ විඳල දැන ගන්නවා, දිවෙන් රස විඳල දැන ගන්නවා, කයෙන් පහස විඳල දැන ගන්නවා කියන කාරණය. මේ ඉන්ද්‍රියන් පහෙන්ම ලැබෙන අරමුණු අවසානයෙදි දැන ගැනීමක් බවට පත් වෙන්නෙ මන ඉන්ද්‍රිය පාවිච්චි කළාට පස්සෙ. ඒ වගේම මනසින් විවිධ සිතිවිලි අරගෙන දැන ගන්නවා. මේ වැඩ ටිකට තමයි අපි ලෝකය ඇසුරු කරනව කියල කියන්නෙ. මේ ලෝකය රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ඇසුරු කරන්න ගියාම තමයි පහත් තත්වයකට වැටිල ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ට ගොදුරු වෙන්නෙ. මේ බියකරු සසරෙන් ගැලවෙන හැටි දැන ගන්න පාවිච්චි කරන්න වෙන්නෙත් ඔය විදිහට අපිව අමාරුවෙ දාන ඉන්ද්‍රියන් ටිකම තමයි. ඉතිං ඔය ඉන්ද්‍රියන් ටික හසුරුවන්න විශේෂ දක්ෂතාවයක් නැතුව ගැලවෙන්න පුළුවන් වෙයි කියල හිතන්න අමාරුයි.

**ශ්‍රාවක :** ඒකනම් ඇත්ත තමයි. ඔය ඉන්ද්‍රියන්වලින් අටවන උගුලට අහුනොවී මේකෙන් ගැලවෙන්න නම් විශේෂ හැකියාවක් තියෙන්න ඕන කියල දැන් වැටහෙනවා. මොකක්ද ඒ විශේෂ හැකියාව?



**දේශක :** අපි මේ ලෝකයේ සියළු දේ දැන ගන්න භාවිතා කරන ක්‍රම දෙකක් ගැන මජ්ජිම නිකායේ පළවන කාණ්ඩයේ 685 පිටුවේ එන මහා වේදල්ල සූත්‍රයේ හැමෝටම තේරුම් ගන්න පුළුවන් විදිහට සරලව විස්තර කරල තියෙනවා. ඒ තමයි විඤ්ඤාණයෙන් දැන ගැනීමේ ක්‍රමය සහ ප්‍රඥාවෙන් දැන ගැනීමේ ක්‍රමය. මේ ක්‍රම දෙකම තේරුම් ගත්ත කෙනෙකුට විශේෂ හැකියාවක් තියෙනව කියල කියන්න පුළුවන්.

**ශ්‍රාවක :** විඤ්ඤාණයෙන් දැන ගන්නව කියන එක විස්තර කරල දෙන්න.

**දේශක :** අපි මේ ලෝකෙ ඇසුරු කරල ලබාගන්න රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම සැපක් විදිහට දැනෙනව නම් ඒ දැන ගෙන තියෙන්නෙ විඤ්ඤාණයෙන් තමයි. ඒ වගේම ඒවා දුකක් විදිහට දැනෙනව නම් ඒකත් දැනගෙන තියෙන්නෙ විඤ්ඤාණයෙන්ම තමයි. ඒ විතරක් නෙවෙයි, යමක් සැපත් නැති දුකත් නැති විදිහකට දැනෙනව නම් ඒකත් විඤ්ඤාණයෙන්ම තමයි දැන ගන්නෙ.

**ශ්‍රාවක :** එහෙම නම් මම මේ ලෝකෙ ගැන මේ වෙනකල්ම දැන ගෙන තියෙන ඔක්කොම දැන ගත්තෙ විඤ්ඤාණයෙන්ද?

**දේශක :** ඔව්, හැබැයි ප්‍රඥාවෙන් දැන ගත්ත ඒවත් ටිකක් තියෙන්න පුළුවන්. මේ ලෝකයේ ජීවත් වෙනකොට ඉන්ද්‍රිය හරහා ලැබෙන යම් අරමුණකට අපිට මෙහෙම අදහසක් ආවොත්, ඒක හොඳයි කියල හරි, නරකයි කියල හරි, හොඳත් නෑ නරකත් නෑ කියල හරි, ඒ අදහස අරගෙන තියෙන්නෙ විඤ්ඤාණයෙන් මිසක් ප්‍රඥාවෙන් නෙවෙයි. සාමාන්‍යයෙන් මේ ලෝකය ප්‍රඥාවෙන් දකින කල්ම ඔය විදිහට අපිට අවශ්‍ය ගොඩවල් තුනකට දැන ගන්න සියල්ල වෙන් කරල, අපි කැමති ගොඩත් එක්ක ඇලෙනවා, අපි අකමැති ගොඩත් එක්ක ගැටෙනවා, අපි කැමතිත් නැති අකමැතිත් නැති ගොඩත් එක්ක සාමාන්‍ය උපේක්ෂාවකින් ඉන්නවා. ලෝකයෙන් ලැබෙන අරමුණු සියල්ල අපිට අවශ්‍ය ආකාරයට ගොඩවල් තුනකට බෙදල දැනගන්න ක්‍රමයට තමයි විඤ්ඤාණයෙන් දැන ගන්නවා කියන්නෙ.

මෙතනදි ප්‍රඥාවෙන් තොරව විඤ්ඤාණයෙන් දැන ගන්නවා කියන කාරණය තවත් ආකාරයකට පහදන්න පුළුවන්, වේදනා චෛතසිකයෙන් දැන ගන්නව කියල. විඤ්ඤාණයෙන් දැන ගෙන වේදනාවක් පහළ වෙන කොට එතනින් චේතනාව පහළ වෙනවා. චේතනා චෛතසිකයෙන් කරන්නෙ හිතක් ගොඩනගන එක. එතකොට ප්‍රධාන වශයෙන් සර්ව චිත්ත සාධාරණ චෛතසික ක්‍රියාත්මක වෙන්න ඕන. එතනදි මෝහ චෛතසිකය ක්‍රියාත්මක වුණොත් ඒක අකුසල් පැත්තට වැටෙනවා. ඒක පින් පැත්තට ගොඩනගන්න ඕන නම් ලෝකෙ ඇතුලෙම තියෙන පින් පැත්ත ගැන හිතන්න ඕන. හැබැයි ඒත් ලෞකික අමෝහය තමයි එන්නෙ. මෙතනදි ඒකත් ලෝකයට අයිති නිසා අවිද්‍යාවෙන් යුක්තවයි හිතන්නෙ. අවිද්‍යාවෙන් වුණත් ☞

ලෝභයෙන් මුලා වෙන්නෙ නැතිවයි හිතන්න ඕන.

මෝහ චෛතසිකයයි ලෝභ චෛතසිකයයි කියන්නෙ කාරණා දෙකක්. ඒ වගේම අමෝහ චෛතසිකයයි ප්‍රඥා චෛතසිකයයි කියන්නෙත් දෙකක්. ඊළඟට ප්‍රඥාව ගත්තමත් ලෞකික, ලෝකෝත්තර කියල අවස්ථා දෙකක් තියෙනවා. හැබැයි ලෞකික වශයෙන් ගත්තොත් අමෝහ චෛතසිකයට ලෞකික ප්‍රඥා චෛතසිකය කියල ගන්නත් පුළුවන්. ඒ වගේම ලෝකෝත්තර අමෝහ චෛතසිකයට ලෝකෝත්තර ප්‍රඥා චෛතසිකය කියල ගන්නත් පුළුවන්. ඒ නිසා ලෝකෝත්තර, ලෞකික අවස්ථා දෙක පටලවා නොගෙනයි එහෙම ගන්න ඕන. මොකද අමෝහ කියල කිව්වත් ලෞකික, ලෝකෝත්තර කියල දෙකක් තියෙනවා. ඒ නිසා අවස්ථානුකූලව බලලයි තීරණය කරන්න ඕන. ප්‍රඥා චෛතසිකයෙන් ගත්තත් චේතනාවෙන් තමය ගොඩනගන්නෙ. හැබැයි එතකොට චේතනාවට ඕන හැටියට නෙවෙයි, ප්‍රඥාවට ඕන හැටියටයි ගොඩනැගෙන්නෙ. නමුත් වේදනා චෛතසිකයෙදි චේතනාව ප්‍රධාන වෙලා ඒකට ඕන හැටියටයි ගොඩනැගෙන්නෙ. ලෝභ හෝ මෝහ චෛතසිකයක් ආවත් එහෙමයි. ලෝභයට හෝ මෝහයට වහල් වෙනවා. නමුත් ප්‍රඥා චෛතසිකය ආවොත් ඒක බලවත් වෙලා ප්‍රධාන වෙනවා. එතකොට හිත පාලනය කරගන්න පුළුවන්. එහෙම වුණොත් ප්‍රඥා චෛතසිකය ප්‍රධාන වෙලා චේතනා චෛතසිකය දෙවෙනි වෙනවා.

එතකොට යමක් ප්‍රඥාවෙන් දැනගන්න නම් සත්පුරුෂ සංසේවනය මුල් වෙන්න ඕන. ඒකෙන් තමයි පටන් ගන්නෙ. ඉන්ද්‍රිය සංවරත්වයට මාර්ගය හදල දෙන්නෙ ඒකෙන්. එතකොට මුලින්ම ඒ පුද්ගලයා ලෞකික නුවණින්, ලෞකික අමෝහයෙන් යුක්ත වුණා නම්, ඒකෙන් දැන ගන්න පුළුවන් කොටසක් තියෙනවා. හැබැයි තවමත් දකින්නෙ ලෞකික ප්‍රඥාවෙන්.

එතනදි ලෝකයේ සත්‍යය යථාර්ථය දත් ශ්‍රමණ බමුණන් ඇත කියන ලෞකික සම්මා දිට්ඨිය තියෙන්න ඕන. ඒකෙන් දකින්න ඕන, යම් භික්ෂූන් වහන්සේ නමක් යම් සංවරත්වයක ඉන්නව නම් එහෙම ඉන්නෙ මොකක් නිසාද කියල. උන් වහන්සේට කන්න බොන්න නැතිව නෙවෙයි, ඉන්න තැනක් නැතිව නෙවෙයි, කාම සම්භෝගයේ යෙදෙන්න බැරිව නෙවෙයි. උන් වහන්සේට ඕන තරම් ඒ සඳහා අවස්ථාව තියෙද්දිත් ඒවාට කිසිම සම්බන්ධයක් නැතිව යම්කිසි මෙත් සිතකින්, සමාධි සිතකින් ඉන්න නම්, උන් වහන්සේ යමක් අවබෝධ කරගෙන ඉන්නෙ කියල ඒ පුද්ගලයට යම් කිසි විශ්වාසයක් ඇති වෙනවා. එහෙම අවබෝධ කරපු කෙනෙක්ගෙ විශේෂත්වයක් තියෙනව කියල අන්න ඒ විදිහට දකින්න පුළුවන් වෙන්න ඕන. එතකොට තමයි සත්පුරුෂ සංසේවනය ලැබෙන්නෙ. ආර්ය අෂ්ටාංගික මාර්ගයට එන්න මුල පුරන්නෙ එතනින්, විශ්වාසය ඇති වෙන්නෙ ඒකෙන්. ඒ විශ්වාසය නිසා තමයි, මමත් ඒ තත්ත්වයට පත් වෙන්න ඕන කියල අත්හදා බලන්න යොමු වෙන්නෙ. ඒ අත්හදා බැලීම පර්යේෂණයකින් පටන් ගන්නෙ. එතකොට ඒ පුද්ගලයට මගක් හැදෙනවා. ඒ අනුව යමෙකුට නිවන් දකින්න නම් මුලින්ම සත්පුරුෂ සංසේවනය අවශ්‍යයි.

**ශ්‍රාවක :** මම අහල තියෙනවා විඤ්ඤාණය කියන්නෙ මායාකාරයෙක් කියල. ඔය කියන මායාකාර විඤ්ඤාණය ගැනමද මෙතනත් කියන්නෙ?

**දේශක :** ඔව්, අපේ බුදු රජාණන් වහන්සේ තමයි විඤ්ඤාණය මායාකාරයෙක් කියල දේශනා කරල තියෙන්නෙ. ඒ විතරක් නෙවෙයි, උන්වහන්සේ විතරමයි මේ ලෝකෙ ජීවත් වෙන මිනිස්සු විඤ්ඤාණ මායාවට අහුවෙලා විනාස වෙන හැටි පෙන්වා දීල තියෙන්නෙ. ඔය ගැන ඉතා සරල හොඳ විග්‍රහයක් සංයුක්ත නිකායේ තුන්වන කාණ්ඩයේ 242 පිටුවේ එන ඵෙනුපිණ්ඩූපම සූත්‍රයේ තියෙනවා. ඒ සූත්‍රයේ උපමාවකට අරන් තියෙන්නෙ මැජික් පෙන්වන කෙනෙක්. ඔබත් සමහරවිට මැජික් සන්දර්ශනවලදි දැකල ඇති, ඒකෙ පණ තියෙන මනුස්සයෙක්ව දෙකට කපල පෙන්වනවා. හැබැයි ඒක ඇත්තක් වගේ පෙන්වන්නෙ. නමුත් ඇත්තක් නෙවෙයි. ඒ නිසා තමයි අපි ඒකට මායාවක් කියන්නෙ. මැජික් සංදර්ශනවල පෙන්වන මායාවන් ඇත්තක් නොවන බව අපි දන්නවා. හැබැයි මේ ලෝකය ඇසුරු කරල විඤ්ඤාණයෙන් දැන ගන්න සියල්ල මායාවක් බව අපි දන්නෙ නෑ. ඒ විඤ්ඤාණ මායාව දැන ගන්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාවන්තයින්ට විතරයි.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මේ ලෝකෙ අපිට සැප හැටියට දැනෙන දේවල්, එහෙම දැනුනට ඒක ඇත්තක් නෙවෙයි ඒක මායාවක් කියලද?

**දේශක :** හරියට හරි. සැප විතරක් නෙවෙයි, දුක හැටියට දැන ගන්න එකත් එහෙමයි. කලින් කිව්ව සැප නැති, දුක නැති හැටියට දැන ගන්න එකත් එහෙමම තමයි. හැබැයි මෙතනදි ගැඹුරින් කල්පනා කරල දැන ගන්න ඕන කාරණයක් තියෙනවා. මේ කියන්නෙ අපේ ශරීරයේ යම්කිසි ආබාධයක් නිසා ඇති වන දුක ගැන නෙවෙයි, විපාක දුක ගැන නෙවෙයි.

**ශ්‍රවක :** ඒ කොහොමද එහෙම වෙන්නෙ? අපිට සැප දුක ඇත්තටම දැනෙනවනෙ.?

**දේශක :** අන්න දැන් තමයි ප්‍රඥාව ඕන වෙන්නෙ. ඔබට ඔය දැනෙන වේදනා තුනේ යථා ස්වභාවය තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාවෙන් විතරමයි. අසෘතවත් පෘතජ්ජනයා කායික දුක්ඛයයි මානසික දුක්ඛයයි කියන දුක් වේදනා දෙකක් විඳින බවත්, සෘතවත් ආර්ය ශ්‍රාවකයා කායික දුක්ඛය පමණක් විඳින බවත් සංයුක්ත නිකායේ 4 වන කාණ්ඩයේ 395 පිටුවේ එන සල්ල සූත්‍රයෙන් පැහැදිලිව පෙන්වා දීල තියෙන්නෙ, ඔන්න ඔය විඤ්ඤාණ මායාවට අහුවෙලා විඳින දුක ගැන. හැබැයි මානසික දුක්ඛය වුණත් සම්පූර්ණයෙන්ම ඉවත් වෙලා තියෙන්නෙ අරිහතුන් වහන්සේට විතරයි. ඊට මෙහා ඉන්න සෝවාන්, සකෘදාගාමී, අනාගාමී අයත් ඒ ඒ මට්ටම්වලින් මානසික දුක්ඛය විඳිනවා. හැබැයි ඒකත් ක්‍රමයෙන් අඩුවෙන තත්ත්වයට පත් වෙනවා. විඤ්ඤාණ මායාවෙන් උදා කරල දෙන දුකයි, කායික දුකයි අතර වෙනස අවබෝධ කරගෙන මායාවෙන් මිදෙන්න පුළුවන් ප්‍රඥාවන්තයින්ට විතරයි.

**ශ්‍රාවක :** ඒක නම් ලේසි වැඩක් නෙවෙයි වගේ පේන්නෙ.

**දේශක :** කලබල වෙන්න අවශ්‍ය නෑ, ධර්ම ශ්‍රවණයෙන් ඔබට අවශ්‍ය ප්‍රත්‍යය ලැබේවි.

**ශ්‍රාවක :** ප්‍රඥාවෙන්

කරන්නෙත් ලෝකය ගැන ඇත්තටම දැන ගන්න එක නම්, මොකක් ගැනද ඔය දැන ගන්න තියෙන්නෙ?

**දේශක** : මහා වේදල්ල සූත්‍රයේ ප්‍රඥාව ගැන විස්තර කරල තියෙන්නෙ, දැන ගන්නවා කියන අර්ථයෙන්ම තමයි. හැබැයි දැන ගන්නෙ මේ ලෝකෙ ඇත්ත. ඇත්ත දැන ගන්න නම් විඤ්ඤාණ මායාවට අහුවෙන්නෙ නැතිව ඉන්න වෙනවා. එහෙම විඤ්ඤාණ මායාවට අහුවෙන්නෙ නැතිව දැන ගන්න ඇත්තට තමයි චතුරාර්ය සත්‍යය කියලත් කියන්නෙ.

**ශ්‍රාවක** : විඤ්ඤාණයෙනුත් දැන ගන්නවා කියනවා. ප්‍රඥාවෙනුත් දැන ගන්වා කියනවා. හැබැයි මේ දැන ගැනීම් දෙක අහසයි පොළොවයි වගේ දෙකක්. විඤ්ඤාණයෙන් රැවටෙනවා, ප්‍රඥාවෙන් දැන ගන්නවා කිව්වම ලේසි වෙනව නේද?

**දේශක** : බොහොම හොඳයි. හරියටම හරි. ඔය ඔබට මතු වෙලා තියෙන්නෙ ප්‍රඥාව තමයි. මහාවේදල්ල සූත්‍රයේ, ඔය විඤ්ඤාණයේ සහ ප්‍රඥාවේ වෙනස පැහැදිලි කරල තියෙනවා. ඔය දෙකෙන්ම ප්‍රඥාවට විතරයි දැන ගන්නවා කියන වචනය පාවිච්චි කරල තියෙන්නෙ. වචන දෙකකින් තමයි විග්‍රහ කරල තියෙන්නෙ. විඤ්ඤාණයෙන් රැවටෙනව කියන අදහස ගන්න පාලි භාෂාවෙන් පාවිච්චි කරල තියෙන්නෙ විජානාති කියන වචනය. පාලි භාෂාවෙන් ජානාති කියන්නෙ දැන ගන්නවා කියන අර්ථය. නමුත් විජානාති කියන්නෙ ඔන්න ඔය කියන ආකාරයේ විඤ්ඤාණ මායාවට අහුවෙලා ඇත්තක් නොවන දෙයක් දැන ගන්නවා කියන අර්ථයෙන්. ඒ වගේම පාලි භාෂාවෙන් පජානාති කියන්නෙ විඤ්ඤාණ මායාවට හසුනොවී ප්‍රඥාවෙන් දැන ගන්නවා කියන අර්ථයෙන්.

සිංහලෙන් විජානාති සහ ජානාති කියන අර්ථ දෙක ගන්න වචන දෙකක් මම දන්න තරමින් නැති නිසා පාලි වචන දෙක පාවච්චි කරල මේ විදිහට විස්තර කරල දෙන්න පුළුවන්.

අපේ ඉන්ද්‍රියන්වලට ගෝචර වන සියළු රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම අරමුණු විඳීම් තුනක් විදිහට ඒ කියන්නෙ සැප, දුක්, උපේක්ෂා (සැපත් නැති දුකත් නැති) විදිහට දැන ගන්න ආකාරයට තමයි විජානාති කියල කියන්නෙ. මේ ලෝකෙ ඉන්න හැම මනුස්සයෙක්ම වගේ හිතන්නෙ, කියන්නෙ, කරන්නෙ මේ විදිහට විජානාතිවලින් අරමුණු අරගෙන. හැබැයි ඒ කවුරුවත් දන්නෙ නෑ තමන් මායාවකට අහුවෙලයි මේ තීරණය ගන්නෙ කියල. සම්මා සම්බුදු රජාණන් වහන්සේගෙන් හරි උන් වහන්සේගෙන් අහල දැනගත්තු කෙනෙක්ගෙන් හරි, මේ විඤ්ඤාණ මායාව අහල දැන ගන්න කල්ම මේ ලෝකය ඇසුරු කිරීම සම්බන්ධයෙන් පජානාති වෙන්න පුළුවන්කමක් නෑ. මේ ක්‍රමයට ලෝකයේ ඇත්ත, ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය ඒ වගේ ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් අහල දැනගෙන තමයි පජානාති වෙන්න පටන් ගන්නෙ. ඊට පස්සෙ තමයි ඒ අය ලෝකයේ මායාව දැනගෙන ලෝකෙන් මිදෙන්න උත්සාහ කරන්නෙ. එහෙම කරන්නෙ ඒ අය ප්‍රඥාවන්තයින් නිසා තමයි.

**ශ්‍රාවක** : විඤ්ඤාණ මායාව හඳුනගත්තට පස්සෙ ප්‍රඥාව මතු වෙන නිසා ඒක එච්චර අමාරු දෙයක් වෙන්න බෑ කියලයි මට හිතෙන්නෙ.

**දේශක** : ඔව් ඒක ඇත්ත තමයි. ශ්‍රී සද්ධර්මය පරම දුර්ලභයි. ශ්‍රී සද්ධර්මය අහල ප්‍රඥාවන්තයෙක් වෙන්න පුළුවන් වුණාට, ඒ දහම අහන්න ලැබෙන්නෙ හරිම කලාතුරකින්. ඒ වුණත් කාටහරි මේ ශ්‍රී සද්ධර්මය හොයාගන්න ඕන කමක් තියෙනව නම්, ඔහුට හොයාගන්නත් පුළුවන්. අපේ ගෞතම බුද්ධ සාසනය තවත් අවුරුදු 2400 ක් කල් පවතිනව කියනවා.

**ශ්‍රාවක** : විඤ්ඤාණ මායාව තේරුම් ගන්න පුළුවන් වෙන්න සරල උදාහරණයක් කියන්න පුළුවන්ද?

**දේශක** : ඒක හරියටම අවබෝධ කරගන්න නම් චතුරාර්ය සත්‍යය පිළිබඳ ධර්ම දේශනාවක්ම ශ්‍රවනය කරන්න වෙනවා. හැබැයි මම සාමාන්‍ය අදහසක් ගන්න ඔබගෙන් ප්‍රශ්න කිහිපයක් අහන්නම්. හොඳට හිතල බලල උත්තරයක් දෙන්න. මම ඔබට හොඳට පිපිල තියෙන ලස්සන නෙළුම් මලක් පෙන්වල අහනවා, මේ මල දැක්කම ඔබට මොනවද හිතෙන්නෙ කියල.

**ශ්‍රාවක** : හරිම ලස්සනයි, හොඳයි කියල තමයි මට නම් හිතෙන්නෙ.

**දේශක** : ඒ මල දැකල ඔබ ගත්ත තීරණය විජානාතිද පජානාතිද?

**ශ්‍රාවක** : ඒක විජානාති එකක්.

**දේශක** : ඒ කියන්නෙ ඔබ විඤ්ඤාණ මායාවට අහුවුණා කියන එකනෙ.

**ශ්‍රාවක** : ඒකට කරන්න දෙයක් නෑ, මට හිතෙන්නෙ එහෙම තමයි.

**දේශක** : මම ඔබට පෙන්වනවා, කුණු වෙලා පණුවො ගහල තියෙන මළ සිරුරක රූපයක්. මොකක්ද ඔබගෙ තීරණය?

**ශ්‍රාවක** : අපෝ හරිම කැතයි. මම කැමති නෑ ඒක බලන්නවත්.

**දේශක** : ඒ තීරණය විජානාතිද පජානාතිද?

**ශ්‍රාවක** : ඒකත් විජානාති.

**දේශක** : ඔබ ආයෙත් විඤ්ඤාණ මායාවට අහුවුනා. ඔබ අවස්ථා දෙකේදීම ගත්තු තීරණය විඤ්ඤාණ මායාවට අහුවෙලා ගත්ත විජානාති එකක් මිසක් ඇත්තක් නෙවෙයි. හොඳයි මම ඔබගෙන් කරවිල කරලක් පෙන්වල අහනවා, මේක හොඳයිද නරකයිද කියල.

**ශ්‍රාවක** : හොඳ නෑ, මම කරවිල කන්නෙත් නෑ. මම කරවිලවලට කැමතිත් නෑ.

**දේශක** : පොඩ්ඩක් හිතල බලන්න. මම කරවිල කන්න කැමති කෙනෙකුට මේක පෙන්වල ඇහුවොත් ඔහු මොකක් කියයිද?

**ශ්‍රාවක** : ඔහු නම් හොඳයි කියයි. මොකද කරවිල කන්න කැමති නිසා.

**දේශක** : දැන් හොඳට ගැඹුරින් හිතල බලන්න, කරවිල කරල සම්බන්ධව දෙන්නෙක් ගත්ත තීරණය එකම වුනේ නෑ. කරවිල කරල කියන්නෙත් රූපයක්. අපි ඔය රූප දිහා බලල අරගන්න හොඳයි කියන එක හෝ නරකයි කියන එක හෝ හොඳත් නෑ නරකත් නෑ කියන එක හෝ තිබුනෙ රූපවලද?

# සසර දුක...

මේක නම් සංසාර ගත බැඳීමක් කියනවා, සසර වසන තුරාවට මට නම් දකින්නවත් ඕන නෑ කියනවා. කතාවට මෙහෙම කිව්වට සංසාරය ගැන දන්නෙත් නෑ, සංසාරය දකලත් නෑ. ඇමීබාවා කියල සත්ත්වයෙක් ඉන්නවා. නමුත් සාමාන්‍ය ලෝකයාට ඒ සතා දකින්න පුළුවන් වෙන්නෙ අන්වීක්ෂය කියන, කුඩා දේවල් ලොකු කරල පෙන්වන උපකරණයකින් විතරයි. ඒ සත්ත්වයාට එකම සෛලයක් විතරයි මුළු ශරීරයම හැටියට තියෙන්නෙ. ඒ තරම් කුඩායි. අන්වීක්ෂය නිපදවන්න කලින් ඇමීබාවා ගැන සාමාන්‍ය ලෝකයා දැනගෙන හිටියෙ නෑ. දැනගෙන නොහිටියට ඒ කාලෙත් ඇමීබාවො කියල සත්ත්ව ජාතියක් ඉඳල තියෙනවා. දිවැස් ලාභීන්ට නම් ඒ කාරණය දකින්න පුළුවන්. බුදුන් වහන්සේ, ඇසට නොපෙනෙන ඊටත් වඩා කිරණ මට්ටමේ ශරීර ඇති සත්ත්වයින් ගැනත් දැනගෙන, දැකගෙන තිබුණා.

මේ වගේ, සංසාරය ගැන පෘතජ්ජන ලෝකයා දැනගෙන, දැකගෙන නොහිටියට සංසාරය කියල දෙයක් තියෙනවා. ඒක දකින්න පුළුවන් ප්‍රඥා ඇසින්. විද්‍යාව කියල අද කියන්නෙ යම් කිසිවක් ගැන ගවේශණය කරල තොරතුරු දැනගැනීමට. රසායන විද්‍යාව කියන්නෙ රසායන ද්‍රව්‍ය පිළිබඳව විවිධ පරීක්ෂණ,



නිරීක්ෂණ, නිගමන කරමින් ඒ රසායනයන් ගැන තොරතුරු දැන ගැනීමට. එහෙනම් අවිද්‍යාව කියන්නෙ යමක් පිළිබඳව පරීක්ෂාකර නොබැලීම නිසා ඒ පිළිබඳව නොදැනීම, නොදැකීම. සංසාරය ගැන පරීක්ෂාකර නොබැලීම තමයි ඒ පිළිබඳ අවිද්‍යාව කියන්නෙ. පෘතජ්ජන ලෝකයා ඒ ගැන පරීක්ෂා නොකළට බුදු පියාණන් වහන්සේ ඒ ගැන පරීක්ෂා කරල, අවිද්‍යා ප්‍රත්‍යයෙන් ලෝක සත්ත්වයා සංඛාර ගොඩනගන හැටිත්, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ, විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප, නාම රූප ප්‍රත්‍යයෙන් සළායතන, සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශ, ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනා, වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා, තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන, උපාදාන ප්‍රත්‍යයෙන් භව, භව ප්‍රත්‍යයෙන් ජාති හටගන්න ආකාරයත් සම්මා සම්බුද්ධ ඥානයෙන් දැන ගත්තා, දැක ගත්තා.

සං + සාර කියන වචන දෙකේ එකතුවෙන් තමයි සංසාර කියන වචනෙ හැදිල තියෙන්නෙ. ගීතයකට යම් යම් වාදන භාණ්ඩවලින් ගැලපෙන ආකාරයට ශබ්ද එකතු කළාම සං + ගීතය කියනවා. යම් යම් දේවල් වැඩි දියුණු කරනවට සං + වර්ධනය කියනවා. මොනවා හෝ එකතු කරල බැඳිල හිටින්න හදනවට සං + බන්ධ කළා කියනවා. මේ විදිහට යමක් එකතු කරනවට, වැඩි දියුණු කරනවට, බැඳ තබනවට තමයි ''සං'' කියන්නෙ. මේ විදිහට ක්‍රියා එකතු කරනවා, බැඳ තබනවා, වැඩි දියුණු කරනවා කියන එකයි සං + කාර කියන්නෙ.

ඇස, කන, නාසය, දිව, කය, මන කියන මේවාට ගෝචර වන රූපාදී අරමුණුවලින් ආස්වාද විඳින්න ☞

---

**ශ්‍රාවක** : නෑ. ඒ තීරණ තුනම රූපයේ තිබුණෙ නෑ. මම කරවිලවලට අකමැති නිසානෙ හොඳ නෑ කිව්වෙ. අර පුද්ගලය කරවිල කන්න කැමති නිසානෙ හොඳයි කිව්වෙ. මම රූප බලල තීරණ ගන්නෙ මගේ කැමැත්ත අකමැත්ත අනුව මිසක් රූපයේ තියෙන මොකක් හරි නිසා නෙවෙයි.

**දේශක** : හරියටම හරි. රූප සම්බන්ධව ඔබ දැන් කිව්වෙ ඔබේ ප්‍රඥාවෙ තීරණයක්. ඒ කියන්නෙ පජානාති එකක්. අපි හැමෝම රූප බලල විඤ්ඤාණ මායාවට අහුවෙලා තමයි හොඳයි කියල සමහර ඒවත් එක්ක ඇලෙන්නෙ. ඒ වගේම නරකයි කියල සමහර ඒවත් එක්ක ගැටෙන්නෙ.

**ශ්‍රාවක** : අහුනොවී ඉන්නව නම් හොඳ සිහි කල්පනාවෙන් ඉන්න වෙනව නේද?

**දේශක** : ඔව්, හැබැයි කාටහරි පුළුවන් නම් විඤ්ඤාණ මායාවට අහුවෙලා ඇලුනට පස්සෙ වුනත්, එහෙම ඇලුනෙ විඤ්ඤාණ මායාවක් නිසා බව තේරුම් අරගෙන ඇලීම අවම කරගන්න, ඒ වගේම විඤ්ඤාණ මායාවට අහුවෙලා ගැටුනු අවස්ථාවකදී විඤ්ඤාණ මායාවට අහුවෙලා තියෙන බව දැනගෙන ඒ ගැටීම අවම කරගන්න, එතකොට ඒ පුද්ගලයා මේ ලෝකෙ පජානාති විදිහට තේරුම් ගත්තු කෙනෙක් වෙනවා.

**ශ්‍රාවක** : මේ ලෝකෙ ඇත්ත දකිනව කියන්නෙ ඔය විඤ්ඤාණ මායාව හඳුනගන්න එකටද?

**දේශක** : ඒ ප්‍රශ්නය නම් ඔව් කියල හරි, නෑ කියල හරි උත්තර දෙන්න පුළුවන් ප්‍රශ්නයක් නෙවෙයි. හැබැයි විඤ්ඤාණ මායාව අඳුනගන්නෙ මේ ලෝකෙ ඇත්ත දැකපු අය තමයි. නමුත් ඇත්ත දකිනව කියන කාරණය ගොඩක් ගැඹුරින් විග්‍රහ කරගත යුතු දෙයක්. ඒකට අපි මේ ලෝකෙ ස්වභාවය ප්‍රඥාවෙන් දකින්න ඕන. වෙනත් විදිහකට කියනව නම් මේ ලෝකෙ අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල දැනගන්න ඕන. මේ ලෝකෙදි අපිට ලැබෙන ආස්වාදයේ යථාර්ථය දැකගන්න ඕන. ආස්වාද පසුපස හඹායාම නිසා නිරායාසයෙන්ම ලැබෙන ආදීනවය හොඳින් තේරුම් ගන්න ඕන. මේ උගුලෙන් ගැලවෙන ක්‍රමයත් හොඳින් තේරුම් ගන්න ඕන. ඒකට නම් ගොඩක් ගැඹුරින් සාකච්ඡා කරන්න වෙනවා. ඉදිරියෙදි අපි ඒ ගැන සාකච්ඡා කරමු.

සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**

තමයි ඒවා සමග කැමැත්තෙන් බැඳිල සංඛාර කරන්නෙ. ආස්වාද විඳින්න උවමනා කරන ඇස වටිනවා, හොඳයි, සාරයි, ඇසට ගෝචර වන රූප වටිනවා, හොඳයි, සාරයි, ඒ වගේම කන, නාසය, දිව, කය, මනත්, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේවාත් හොඳයි, වටිනවා, සාරයි කියන අවිද්‍යාවේ දෘෂ්ටිය නිසා සංඛාර ගොඩ නගමින් කරගෙන යන වැඩ පිළිවෙලට සංසාරය කියනවා. බුදුන් වහන්සේ ජාති ධර්ම සූත්‍රයේ පෙන්වා තියෙනවා, මේ වැඩ පිළිවෙල කරගෙන යන ඇස, කන ...ආදී ඉන්ද්‍රියනුත් රූප, ශබ්ද.. ආදී ගෝචර වන අරමුණුත් සියල්ල ජාති ධර්ම කියල. ජාති හටගන්නා ආකාරය මුලින් පැහැදිළි කළා. එහෙනම් සංසාරය පවතින්නෙත් අවිද්‍යාව නිසා, ජාති හොඳයි වටිනවා කියල කැමැත්තෙන් බැඳි බැඳී තණ්හා වෙලා ආස්වාද විඳින නිසා.

මේ විදිහට හට ගන්න සං, සාර දෙයක්ද කියලත් විමසල බලමු. යම් කෙනෙක්, මනුස්සයෙක් විදිහට උපදින්න නම්, නව මසක් දස මසක් අතර කාලයක් මව් කුසක වැඩෙන්න ඕන. ඒ කාලය හරිම සුන්දරයිද? මළ මූත්‍ර පිරිච්ච අවයව අතරෙ, එබඳුම දුගඳ හමන දියර බෑගයක් ඇතුලෙ මදුරු පණුවෙක් වගේ කළලය වැඩෙන්න පටන් ගන්නවා. මව කන බොන දෙයින් ඕජස උරාගෙන පරපෝෂිතයෙක් වගේ වැඩෙනවා. මාස 9 ක් අඳුරු ගුහාවක මේ විදිහට දැස් පියාගෙන, දෑත දෙපා ගුලිකරගෙන ඉන්න සිද්ධ වෙන එක ගැන හිතල බලන්න. මේ ලෝකෙට කොයි විදිහකින් නමුත් උපත සිදු වුනාට පස්සෙ, දැන් ඔක්කොම හරි කියල සැනසෙන්න පුළුවන්ද? බඩගිනියි කියන්න දන්නෙත් නෑ. උණුසුම වැඩියි, සීතලයි, පිපාසයි, බඩ රිදෙනවා... මේ වගේ අත්‍යවශ්‍ය දෙයක්වත් කියාගන්න බෑ. මළ මූත්‍ර පිටවුනත් හෝද ගෙන පිරිසිදු කරගන්න බෑ. මැස්සෙක් මදුරුවෙක් වැහුවත් එළවගන්න බෑ. හරිම අසරණයි. කාගෙ හරි පිළිසරණක් ලැබුනෙ නැත්නම් මරණය නියතයි.

ලොකු මහත් වෙච්ච කෙනෙකුට කිසියම් ආපදාවක් වෙලා, රෝහලකට ඉක්මනින් ඇතුලත් කරල හදිසි ප්‍රතිකාර ලබා දෙන්න සිද්ධ වෙලා කියල හිතමු. මෙහෙම වෙලාවට සමහර අය රෝගියා මරණයට පත් වුනොත්, පොලිසි යන්න, සාක්ෂි දෙන්න, කටඋත්තර දෙන්න සිද්ධ වෙන එක කරදරයක් හැටියට සලකල උපකාර කරන්න එන්නෙ නෑ. තවත් කෙනෙක් තමන් හදිසි කටයුත්තක යෙදිල ඉන්න නිසා එන්නෙ නෑ. මේ වගේ වෙලාවක යම් කෙනෙක් ඉදිරිපත් වෙලා ඒ කටයුත්ත ඉෂ්ට කරල ජීවිතය බේරුවොත්, සුව වෙච්ච පුද්ගලයා කෘතෝපකාරය දන්න කෙනෙක් නම්, මම ඔබට ණය ගැතියි මගේ ජීවිතය බේරුවට... කියල ඔහුට ස්තුති කරනවා. දැන් අර මස් කැටියක් වගේ උඩුකුරුව ඉන්න අළුත උපන් ළදරුවත්, තමන්ව මරණයෙන් බේරගන්න උපකාර කරන යම් පිරිසක් ඇත්ද, ඒ හැම දෙනාටම ණය ගැතියි. ආස්වාද විඳින්න තියාගත්ත බලාපොරොත්තුව නිසා ලෝකෙට ණයකාරයෙක් වෙන්න සිද්ධ වෙලා. ණයකාරයෙක් වෙන එක සැපක්ද, දුකක්ද? සැනසීමක්ද, වැනසීමක්ද?

බඩගිනි වෙලා අඬනවා. දැවෙන පිච්චෙන ගිනි කියන ගති ලක්ෂණය බඩේ ඇතිවෙලා, බඩ ගිනි වෙලා. බඩගිනි ජාතියක් පහල වෙලා. ලෝකෙට ණය වෙලා ආස්වාද විඳින්න හදාගත්තු කය, ආස්වාද වෙනුවට ගිනි දෙන්න පටන් අරගෙන. රස විඳින්න හදාගත්තු දිව, රස නොලැබීමෙන් පෙළෙනවා. රසය දුන්නම ගිනි නිවෙනවා. පළවෙනි වතාවට ගිනි නිව්වෙ කවුද කියල අඳුන ගන්නවා. ඊට පස්සෙ ඒ රූපය නැවත නැවත දකින්න ඇසත් රූපයත් රාගයෙන් බැඳෙනවා. දැන් මේ රූපය දකින්න නැතිවෙන කොට ඇස පෙළෙන්න පටන් ගන්නවා. රූප දැකීමේ කැමැත්තෙන් ඇසේ ගිනි හටගන්නවා.

මේ විදිහට උපකාර කරන ඒ ගුණවත් තැනැත්තියගෙ හඬ මිහිරියි, ඒ හඬට කන රාගයෙන් බැඳෙනවා. ඒ හඬ ඇහෙන්නෙ නැති වුනාම කන පෙළෙනවා. ශබ්ද ඇසීමේ කැමැත්තෙන් කනේ ගින්නක් හට ගන්නවා. මළ මූත්‍ර හෝදල පිරිසිදු කරන ඒ දෑතෙ මුදු පහසට කැමැත්තෙන් බැඳෙනවා. ඒ පහස නොලැබුනාම කය පෙළෙනවා. පහස විඳීමේ කැමැත්තෙන් කයේ ගින්නක් හටගන්නවා. දහදිය හෝදල, නාවල, සුවඳ ගල්වනවා. සුවඳ විඳීමේ කැමැත්තෙන් නාසය පෙළෙනවා. නාසයේ ගින්නක් හටගන්නවා. ඒ අතීත රූප සිහි කරල මනස ගිනි ගන්නවා. මේ විදිහට එක රූපයක් ඇසුරු කරගෙන ඇස, කන... ආදී ඉඳුරන් හයේ ගිනි හයක් ඇවිලෙනවා.තවත් ලොකු වෙනකොට රූප කොච්චරකට බැඳෙනවද, ඒ එක එක රූපය වෙනුවෙන් ඇස, කන, නාසය, දිව, කය, මන ගිනි ගන්නවා.

අම්මා කියන මේ රූපය දකින්න නැතිවෙනකොට අඬනවා. අම්මා දකින්න ලැබීමෙන් හිතේ ඇතිවෙන සැනසිලි සුවය එක්ක රාග යෙන් බැඳිල. අඬනකොට ආවෙ නැත්නම් අඬන ස්වරය රළු වෙනවා. කලින් අඬපු සිහින් ස්වරය වෙනුවට අහගෙන ඉන්න අය කම්පාවෙන විදිහට අඬනවා. දැන් අඬන්නෙ තරහින්. ද්වේශ ගින්නක් ඇතිවෙලා. දැන් ළඟට ගියාට ලේසියෙන් සනසවන්න බෑ. සුරතල් පාන සංසිඳුන මෘදු ගති ගුණ වැය වෙලා, සුරතල් සිනහ පාමින් හිටිය ළදරු ජාතිය මරණයට පත්වෙලා. මුලින් තිබ්ච්ච සුවය ක්ෂය වෙලා ගෙවිල ගිහින්. සෝක ගින්නක් ඇවිලිලා. දැන් සද්දෙ දාල අඬනවා. එහෙම අඬන්නෙ ඇයි? අම්ම පේන්න ළඟ හිටියෙ නැති නිසා. මුව හා වෙලා. මෝහ ගින්නක් ඇවිලිලා. දැන් ඔන්න බඩගිනි වුණා. දුක්ක ගින්නක් ඇවිලුනා. දැන් අම්මා කියන ඒ රූපය ආයෙත් ආවෙ නැත්නම්, කවුද මගේ බඩගිනි නිවන්නෙ? දැන් මරණ බය දැනෙනවා. හරිම අසරණයි. දැන් දෝමනස්ස ගින්නත් ඇවිලෙනවා. රාග, ද්වේශ, මෝහ නමැති දෙවනි මනසක් ඇසුරු කරන්න සිද්ධ වෙච්ච එකෙනුයි මේ දුක ගොඩනැගුනෙ. ඇය ගැන හිත හිතා දුක් වෙනවා. මෝහයෙන් වැහිච්ච නිසා එතැනින් එහාට යමක් හිතන්න බෑ. ඒකෙම බැඳි බැඳී අසහනයට පත්වෙනවා. උපායාස ගින්නත් ඇවිලෙනවා.

මේ විදිහට පුංචි ළදරුවත්, අම්මා කියන එකම රූපය ඇසුරු කරගෙන ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉඳුරන් හයම එකොලොස් මහා ගින්නකින් දැවෙනවා. ගිනි 66 කින් දැවෙනවා. මේ වගේ එකම අරමුණකින් වුනත් ආස්වාදය පූර්ණ වෙන්න නම් ඉඳුරන් හයම ක්‍රියාත්මක වෙන්න ඕන. දිව පිනවන්න කියල පපඩමක් ගත්තම ඒක බරස් ගාල හැපෙන්නෙ නැත්නම් කැමට ප්‍රිය නෑ, ශබ්ද රසය ඕන. හොඳට පිපිල හැඩට තිබුනෙ නැත්නම්, බැදිල වැඩි වෙලා රන්වන් පාට දැලි පාට වෙලානම් කැමති නෑ, රූප රසය ඕන. මුඩු තෙලකින් බැදල නම් හොඳ සුවඳක් නෑ, කැමට ප්‍රිය නෑ. ඒ නිසා ගන්ධ රසයත් ඕන. ☞

පපඩම ලුනු රස මදිනම් ඒත් හරි නෑ. රස රසයත් ඕන. මෘදුවට නැත්නම්, ලැල්ල වගේ නම් ඒත් ප්‍රිය නෑ. ස්පර්ශ රසයත් ඕන. තමන් කැමති උඳු පිටිවලට නම්, වෙන පිටි ජාතියකින් හදපු ඒවාට කැමති නෑ. ඒ නිසා මනසින් දරාගත් රසය හෙවත් ධර්ම රසයත් ඕන.

බොහෝ දෙනෙක් සිංදු අහන්න කැමතියි. සිංදු දහයකට කැමති නම් මේ විදිහට 6×10×11 = 660 ක් ගිනිවලින් දැවෙනවා. අසහනයන්ගෙන් පෙළි පෙළී අපි ඉන්නෙ මොන තරම් ගිනි ගොඩකද කියල හිතල බලන්න. හිතාගෙන ඉන්නෙ නම් බොහොම සුවදායක තැනක ඉන්නව කියල. සංසාරය ගැන පරීක්ෂා නොකිරීම නිසා, නොදන්නා නොදක්නාකම නිසා, අවිද්‍යාව නිසා, උපන් දා පටන් කවුරුත් කරන්නෙ මේ භය දෙනා සනසන්න උත්සාහ කරන එක. එහෙනම් දැන් කොච්චරක් සැනසිලාද, තව කොච්චරක් සැනසීම පූර්ණ කරගන්න ඉතුරු වෙලා තියෙනවද කියල හොයල බලන්න ඕන.

අපි යම් කිසි වැඩ පිළිවෙළක් කරගෙන යන්නෙ, ඒකෙ අවසාන ප්‍රතිඵලයක් දකල විඳල සතුටු වෙන්න. උදාහරණයක් විදිහට ගෙයක් හදන වැඩ පිළිවෙලක් ගැන හිතමු. ඒ සඳහා සිමෙන්ති, ගල්, වැලි, ලී දඬු... ආදිය රැස්කරනවා. පෙදරේරු වැඩ, වඩු වැඩ ආදී විවිධ කටයුතුවලට ඒ ඒ පිරිස් යොදවල අන්තිමට ලස්සන ගෙයක් හදල ඒ නිවසට පදිංචි වෙන දවසෙ, ගේ හදන්න විඳපු ඔක්කොම දුක් අමතක කරල විනෝද වෙනවා, සතුටු වෙනවා. මේකත් අවිද්‍යාවෙ නිගමනයක්මයි. කවදා නමුත් කෙබඳු ආකාරයකින් හෝ කුමන මොහොතක හෝ කැඩිල බිඳිල වැනසිලා යන දෙයක් හොඳයි වටිනවයි කියල සතුටු වෙන එකෙත් හරයක් නෑ.

මේ වගේ අපි රූපවාහිනියෙන් නාට්‍ය බලනවා. අද බැලුවම යම් ප්‍රමාණයකට රූප දකීමේ කැමැත්ත පූර්ණ වෙන්න ඕන. අපි හිතමු අද 1% ක් කැමැත්ත පූර්ණ වුනා කියල. අදට වැඩිය රසවත් කොටසක් හෙට පෙන්වන නිසා (නැවත නැවත බලන්නෙ ඒ වගේ වැඩි ආස්වාද ලැබීමේ බලාපොරොත්තුවක් තියෙන නිසා) හෙට බලන වෙලාවට ඇසේ කැමැත්ත ඊට වඩා පූර්ණ වෙන්න ඕන. නමුත් අපිට ගණනක් හැටියට එදත් 1% ක් පූර්ණ වුනා කියල හිතමු. මේ විදිහට ඇසේ ඇතිවන රූප දකීමේ කැමැත්ත, රූපවාහිනිය බැලීමෙන් පූර්ණ වෙනව නම්, තව දින 98 ක් රූපවාහිනිය බැලුවම කැමැත්ත සම්පූර්ණ වෙන්න ඕන. නමුත් 100 වෙනි දවසට පස්සෙත් අර රූප දකීමේ කැමැත්ත පොඩ්ඩක්වත් අඩු වෙලා නෑ. එහෙනම් මේ ඇස පිනවන්න කරගෙන ගිය වැඩපිළිවෙල හරයක් නැති, අවසානයක් නැති, කාලය කා දමපු වැඩ පිළිවෙලක් විතරයි.

ඊළඟට මේ වැඩසටහනට රාගයෙන් බැඳිල බල බල ඉන්න වෙලාවෙ විදුලිය විසන්ධි වෙනවා. නාට්‍යයේ හොඳම කොටස කියල හිතාගෙන හිටිය අවස්ථාවක තමයි විදුලිය විසන්ධි වුනේ. දැන් විදුලිබල මණ්ඩලයේ නිලධාරීන්, සේවක හැම දෙනාම විතරක් නෙවෙයි විදුලිබල ඇමතිත්, ඒ අයට ඇහුනෙ නැති වුනාට නොසෑහෙන්න බැනුම් අහනවා. ඒ අය කෙරෙහි ද්වේශ බැම්මක් ඇතිකර ගෙන. මේ විදිහට මුලින් උපමාවෙදි පෙන්නුව වගේ, මේ අවස්ථාවෙදිත් ඇස පිනවන්න ගිහින් එකොළොස් මහා ගින්නෙන්ම දැවෙනවා. චක්ඛු, සෝත, ඝාන, ජිව්හා, කාය, මන කියන ඉඳුරන් වටිනවා හොඳයි ආස්වාද ගේනවා කියන අවිද්‍යාවේ දෘෂ්ටිය නිසා, කරගෙන ගිය වැඩ පිළිවෙල, සංසාරය, දුකක්, අසහනයක්, පෙළීමක්, ගින්නක්ම දුන්න මිසක් ආස්වාදයක්, හරයක්, සහනයක්, සැනසීමක් දීල නෑ.

දැන් මේ රූපවාහිනී බැලීමේ කැමැත්ත ඇතිවුනේ කවද ඉඳලද? නිවසට, රටට රූපවාහිනිය හඳුන්වා දුන්න දවසෙ ඉඳල. ඊට කලින් රූපවාහිනියක් නෑ කියල දුකක් දොම්නසක් එහෙම තිබුනද? නෑ. එහෙනම් රූප බැලීමේ කැමැත්තෙන් බැඳුන දවසෙ ඉඳලයි ඇස පිනවීමේ දුක හටගත්තෙ. එහෙනම් ඇස් ජාති, රූප ජාති...ආදී වශයෙන් ජාතිවලට කැමැත්තෙන් බැඳීම අත හැරියොත් මේ සියලු දුකෙන් නිදහස්. ඊට කලින් එහෙම දුකක්, ගින්නක්, අසහනයක්, පෙළීමක් තිබිල නෑ. එහෙනම් සංසාරය කියන්නෙ රාග ගින්නෙන්, ද්වේශ ගින්නෙන්, මෝහ ගින්නෙන්, ජාති ගින්නෙන්, ජරා ගින්නෙන්, මරණ ගින්නෙන්, සෝක ගින්නෙන්, පරිදේව ගින්නෙන්, දුක්ඛ ගින්නෙන්, දෝමනස්ස ගින්නෙන්, උපායාස ගින්නෙන් ඇවිලෙමින් මේ ගිනි ජාලය තුළ සැරි සැරීම. මේ ගිනි ටික නිවුන නම් නිවන කියන්නෙ ඒකට. ඒ සඳහා කරන්න ඕන මොනවද?

සංඛාර කරන නිසා සංසාරය හැදුන හැටි මුලදි පෙන්නුවා. කර්ම ස්ථාන කළා. ඒ නිසා ජාති හටගත්තා. කර්ම අස්ථාන (කර්මස්ථාන) කළා නම් ජාති හටගන්නෙ නෑ, සියලු දුකෙන් නිදහස්. ලියනකොට එකම වගේ පෙනුනට මේ කර්මස්ථාන කියන වචනයේ අර්ථය හරියාකාරව වටහා ගන්න ඕන. අපි අවබෝධ කරගත්ත දේ නැවත නැවත මෙනෙහි කරල මේ සත්‍යය, අවිද්‍යාවෙන් වැහිල තියෙන මනසට පැහැදිලි කරල දෙන්න ඕන.

මම ද සියලු ලෝක  
සියලු සත්වයෝ  
රාග ගින්නෙන් නිදහස් වෙත්වා!  
ද්වේශ ගින්නෙන් නිදහස් වෙත්වා!  
මෝහ ගින්නෙන් නිදහස් වෙත්වා!  
ජාති ගින්නෙන් නිදහස් වෙත්වා!  
ජරා ගින්නෙන් නිදහස් වෙත්වා!  
මරණ ගින්නෙන් නිදහස් වෙත්වා!  
සෝක ගින්නෙන් නිදහස් වෙත්වා!  
පරිදේව ගින්නෙන් නිදහස් වෙත්වා!  
දුක්ඛ ගින්නෙන් නිදහස් වෙත්වා!  
දෝමනස්ස ගින්නෙන්  
නිදහස් වෙත්වා!  
උපායාස ගින්නෙන්  
නිදහස් වෙත්වා!  
නිබ්බාන පරම සුඛයෙන්  
සුඛිතතර වෙත්වා ///

බැඳීමෙන් නික්මීමට නිබ්බාන කියනවා. පරම සුඛය කියන්නෙ නිවනට. සුඛිත තර කියන්නෙ ලෞකික සුඛ වගේ වෙනස් වෙන්නෙ නැති, දුකෙන් එතෙර වීමේ සුඛයක්. කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන සියලු ලෝකවල වාසය කරන අය සිහි කරල ඒ හැම දෙනාටම නිවන් සුවය ප්‍රාර්ථනා කිරීමෙන් මහා මෙත් වැඩීමකුත් සිද්ධ වෙනවා. සංසාර දුකෙන් මිදෙන්නත් හේතු වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**  
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**  
**කඩවත**

**අභයරතනාලංකාරය - 59**

# ගිහි ගෙදරදී වින්ද දුක් ගිනි... (IV)



- වහරක අභයරතනාලංකාර හිමි

අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දි විඳින්න සිද්ධ වෙච්ච දුක් ගැහැට අතර තමන්ගෙම ඥාතීන් විසින් කරපු අණවින කොඩිවිනවලටත් මුහුණ දෙන්න සිද්ධ වෙච්ච ආකාරය පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. ඒ අණවින කොඩිවින කපන්න තව තවත් දුක් ගැහැට විඳගෙන ඒවාට මුහුණ දුන් ආකාරයත් ඇතුළුව උන්වහන්සේ ගිහි ජීවිතයේ මුහුණ දුන් තවත් දුක් ගිනි පෙළක පැතිකඩක් තමයි මේ සටහන් කරන්නෙ. ඒ වගේම මේ හැම එකක්ම අනිත් අයට කරන්න බැරි වුනත්, උන් වහන්සේ එහිදී යොදා ගත් සමහර ධර්මානුකූල ප්‍රතිකර්ම අද ඒ වගේ දුක් කරදර විඳින අයටත් අත්හදා බලන්න බොහොම වැදගත් වේවි. මේ තමයි උන් වහන්සේගෙ ඒ අත්දැකීම්.

අපි ජීවත් වෙච්ච වත්ත පිටියට හූනියම් පාළුවක් කරල තිබ්බච්ච බවට දැනගන්න පුළුවන් ලකුණකුත් තිබුණා. මුල් කාලෙ මම ගොවිතැන් කරන හැම අවස්ථාවකම වත්ත පිටියෙන් හොඳ සශ්‍රීක අස්වැන්නක් ලැබුණා. එහෙම තිබිල මොන විදිහකින්වත් ගහක් කොළක් හිටෙව්වට හරියන්නෙ නැති කාලයක් ආවා. ඒක පරීක්ෂා කරල බලන්න මම එක තැනක පාත්තියක් හදල බැලුවා. ඒකෙ අඩි දෙකහමාරක් විතර යටට මුල්ලු කරල ගල් බොරළු අහක් කරල තනිකරම පස් පුරවල මඤ්ඤොක්ක නටු හිටෙව්වා. කාලයක් ගිහින් අඟල් 6 ක් විතර උඩට ඇදිල කහ ගැහිල ගියා මිසක් හැදුනෙ නෑ. හූමි පාළුවක් කරල තිබ්බච්ච බවට දැනගන්න පුළුවන් හොඳ ලකුණක් තමයි ඒ. ඊට පස්සෙ ඉතින් වැඩක් නැති නිසා මම ඒ මඤ්ඤොක්ක නටු ටික ගලවල පැත්තකට දැම්මා.

මෙහෙම හූමි පාළුවක් කළාම ඒ භූමිය තුළ තියෙන රස ධාතුව පවා සම්පූර්ණයෙන් විනාස වෙනවා. ඒක මහ පුදුමාකාර දෙයක්. මොනව හරි විසක් තමයි වෙන්නෙ. භූමියම පාළු වෙලා යනවා. ගස් කොළන්වල පවා ගෙඩි නැතිව යනවා. ඊළඟට ඒ හූමි පාළුව මටම ආපු සමාධි ක්‍රමයකින් කැපුවා. ඒ කාලෙ ආපු යම්කිසි ක්‍රමවේදයකින් සමාධියකුත් නැගිල තිබුණා. ඒ නිසා පිට කෙනෙක්ගෙ උදව්වක් නැතිවම ඒක කරන්න පුළුවන් බව සමාධියෙන්ම දැනුම් දුන්නා. හැබැයි ඒක දැනුම් දුන්නම ඒකටත් අමනුස්සයො අවුල් හදන්න පටන් ගත්තා, මනසට වද දෙන්න ගත්තා, නොයෙක් කරදර එන්න පටන් ගත්තා, විකෘති වැඩ කරවන්න පටන් ගත්තා. ඒ නිසා එහෙම ක්‍රමවේදයක් දැනුම් දුන්නත්, ඒකටත් බාධා ආපු නිසා මම එකපාරටම වැඩේට අත ගහන්නෙ නැතිව ටිකක් කල් ඇරියා. මොකද මුල් කාලෙ ඉඳන්ම ඔය විවිධ දේවාල ගානෙ ගිහින් කරන වැඩවලින්, අනිත් අය කියන දේවල්වලින් මම පිළිසරණ ගන්න බලාපොරොත්තු වුනේ නෑ. ඒවායින් බොහෝ කොටම ඒ අයගෙ මත දෙන නිසා අපිට ඕන හැටියට පාලනය කරන්න බැරිව යනවා. පස්සෙ තමයි මට සමාධියෙන්ම දැනුම් දුන්නෙ, එක එක්කෙනා කියන දේවල් කරන්න යන්න එපා තමන්ට තේරුම් ගන්න තරම් මොළයක් නුවණක් තියෙනවා, ඒ ටික තමන්ගෙ පාඩුවේ කරගන්න කියල.

ඔය අතර අපේ ගෙදර උදවියත් මේ වෙච්ච කරදරවලට විසඳුම් හොයාගෙන විවිධ තැන්වලින් සාස්තර අහන්න ගියා. පැපිලිවල තිබ්බච්ච එක්තරා දේවාලයකින් විස්තර අහනකොට එතැනින් කියල තිබුණා, හූමි පාළුවක් එක්ක මෙන්න මෙහෙම බන්ධනයක් කරල තියෙනවා, ඒකත් එක්කයි මේ ප්‍රශ්නෙ තියෙන්නෙ කියල. ඊට පස්සෙ මමත් එතැනටම ගිහින් වෙනම විස්තර ඇහුවට පස්සෙ ඒ විස්තරයම මටත් කිව්වා. හූනියම් දෙවියන්ගෙ මූලස්ථානය කියල කියන කැබැල්ලෑවෙ දේවාලයට ගිහින් ඒක කපාගන්න ඕන කිව්වා. මම ඉතින් ඒ කාලෙත් ඔය වගේ දේවල් ආවට ගියාට පිළිගත්තෙ නෑ. ඕනෑම දෙයක් ගැන විමර්ශනය කරල බලන පුරුද්දක් මට තිබුණා.

ඒ නිසා මම මොකද කළේ, ඒ කියපු දේවාලයට ගිය විදිහට එක්තරා සමයක් ප්‍රයෝගයක් ගොතල කිව්වා, මම ඒ ස්ථානයට ගිහින් ඒ තිබ්බච්ච කොඩිවිනය සුද්ද කරල දැම්මා, දැන් තත්ත්වෙ මොකක්ද බලමු කියල. මොකක් හරි උපක්‍රමයක් යොදන්න ඕන නිසා අර සාස්තර අහපු තැනට නැවතත් ගිහින් ඒ විදිහට කිව්වා. ඒ පාර එතැන හිටපු කපු නෝන ආවේශ වෙලා කිව්වා, ඒ කියපු තැනට තවම ගිහිල්ලත් නෑ කියල. ඊට පස්සෙ මම දැන ගත්තා මේ මනුස්සය බොරුවක් නෙවෙයි කියන්නෙ, තමන්ට වැටහෙන දේ, දකින දේ කියන්නෙ කියල. ඒ නිසා මම ඇත්තටම ඒ කියපු කැබැල්ලෑවෙ දේවාලයට ගියා. ගියාට පස්සෙ එතනින් රුපියල් හත්සිය ගණනක පඬුරුයි, ඒකට අවශ්‍ය කරන බඩු භාණ්ඩත් එක්ක තවත් රුපියල් හත්සිය ගණනක තුණ්ඩුවකුයි දුන්නා. ඒක මහ විසාල තුණ්ඩුවක්. බන්ධනය කපා ගන්න නම් ඒ තුණ්ඩුවේ හැටියට ගොඩක් ජාති ගන්නත් තිබුණා. ඒ කාලෙ හැටියට ඒකට සෑහෙන්න වියදමක් යනවා. ඉතින් මගේ අතේ ඕව කරන්න සල්ලිත් නෑ. මොකද රස්සාවත් ☞

නැති වෙලා, ගොවිතැන් බතුත් අසාර්ථක වෙලා බොහොම අමාරුවෙන් හිටපු කාලයක්.

ඉතින් මම මොකද කළේ, ඔය තුණ්ඩුවත් අරගෙන නැවත වතාවක් අර සාස්තර කියන තැනට ගියා, මේ සැරේ කොහොමද බලමු කියල. ඒ පාර මේ සැරෙත් කපල නෑ කිව්වා. ඇයි ඔය දරුවට දීල තියෙන්නෙ රුපියල් හත්සිය ගණනක විසාල තුණ්ඩුවක්නෙ, ඉතින් අතේ සල්ලිත් කීයක්වත් නැතුව කොහොමද ඕව කරන්නෙ, තියෙන හැටියට කරන්න බෑ නේන්නම් කිව්වා. එහෙම කියල, ඇයි ඉතින් ඔය දරුවට ඕක කරගන්න විෂ්ණු දෙවියන්ගෙ ආශිර්වාදයක් හම්බ වෙනවනෙ, ඇයි ඒක කර ගන්නෙ නැත්ද ඇහුවා. ඒත් එක්කම ගුප්ත ලෝකයෙන් කවුරු හරි කෙනෙක් මට මෙහෙම කිව්වා. පුතා ඔය වැඩේ කරන්න එපා, ඒක කරපු මිනිස්සුත් වැනසෙනවා, පුතා බෞද්ධයෙක්නෙ, කෙනෙක් මරන්නෙ නැතිව, හිංගි හිංසා කරන්නෙ නැතිව ඕක කරගන්න පුළුවන් නේද, ඒකට අවස්ථාව ලබා දෙන්න පුළුවන්, ඒක කර ගන්න කිව්වා. මේ කියන විදිහට කාටවත් හානියක් නොකර, වියදමක් යන්නෙ නැතිව ඒක කරල, ඒකෙන් පිහිටක් ආවෙ නැත්නම් අර කියන ඕන විදිහකට කරගන්න කියලත් කිව්වා.

මොකද බෞද්ධ නොවන හුගක් ක්‍රමවලට ඔය වගේ අණවින කොඩිවින කපන්න ගියොත් ඒව කරපු අයගෙ පිටින්ම ගිහින් ඒ අයත් විනාස වෙනවා. කට්ටඩියො කරන වැඩවලින් හුගක් වෙලාවට ඒ වගේ දේවල් තමයි වෙන්නෙ. ඒ කතාව ඇත්ත. ඉතින් ඒ විදිහට ඒක කළොත් එහෙම දෙයක් වෙනව කියලයි මේ කිව්වෙ. නමුත් අර වගේ හොඳ ක්‍රමයක් තියෙනව කියල දැනුම් දුන්නත් මම ඒකත් වැඩිය ගණන් ගත්තෙ නෑ. මොකද මේ ගෙදර අයගෙ ඇවිස්සිල්ල පස්සෙ ගිහින් ඔය කියන ක්‍රමයත් කොහොම එකක් වෙයිද දන්නෙ නෑ කියන සැකයක් මට තිබුණා. මොකද සමහර වෙලාවට අමනුස්සයො අවස්ථාවෙන් ප්‍රයෝජන අරගෙන අපිව රවටන්නත් ඔය වගේ දේවල් කියන්න පුළුවන්.

ඊට පස්සෙ ඉතින් මට ආපු ඒ අදහසත් මම එහෙම්මම දේවාලෙ කපු නෝනට කිව්වා. එතකොට කිව්වා, නෑ නෑ එහෙම එකක් නෙවෙයි, විෂ්ණු දෙවියො කියන්නෙ, ඒ කියන විදිහට කරගන්න කියල. ඊට පස්සෙ මට එක අවස්ථාවක කිව්වා, රන් තැඹිලි තෙල් හදාගෙන තුන් සූත්‍රයෙන් උදේට තුන් වතාව ගානෙ අවස්ථා තුනක් කුටියෙ තියාගෙන ජීවම් කරන්න කියල. මොකද මම ඒ කාලෙ භාවනා ආදී කටයුතුවලට ගෙදර වෙනම කුටියක් හදාගෙන තිබුණා. ඉතින් දවසට තුන ගානෙ දවස් තුනක්, ඒ කියන්නෙ නව වතාවක් තුන් සූත්‍රයෙන් ජීවම් කළා. ජීවම් කළාට පස්සෙ ඒකෙ හරි ආකර්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ ඒ පිරිත් නූල අතට අල්ලන කොට කාන්දමක් වගේ අතේ ඇලෙනවා. ඊට පස්සෙ ගේ මැදයි, ගේ පිටත ප්‍රධාන මුලු හතරයි කියන ස්ථාන පහේ පහන් පහක් තියල ඒ තෙල් ටික දාල ඉවර වෙනකල්ම පත්තු කළා.

ඔය වැඩේ කරල මම තව වතාවක් සාස්තර අහන තැනට ගියාට පස්සෙ කිව්වා, අන්න කොටසක් කරල තියෙනවා, හැබැයි තවම සම්පූර්ණ කරල නෑ, අර විස නම් සුද්ධයි කියල. ඒ කරපු කටයුත්ත හොඳට බලපාල තියෙනවා, ඉතිරි ටිකත් දැනුම් දෙයි කියලත් කිව්වා. ඊට පස්සෙ එදාම මම බස් එකෙන් ගෙදර එනකොට, ගුප්ත ලෝකයෙන් නැවතත් අර වගේ පණිවිඩයක් ලැබුණා. පුතා ගෙදර යන්න එපා, තමන්ගෙ සහෝදරයෙක් වගේ යාළුවෙක් ඉන්නවා පූගොඩ විල්බට් කියල, එහාට යන්න, ගිහින් මෙන්න මේ ටික කරගන්න කියල ඒ විස්තරය මට දර්ශනයක් විදිහට පෙන්නුවා.

බත් උතුරන මට්ටමට හාල් හැලියක් ළිපේ තියල ඉදුනට පස්සෙ ඒ බත් ටික කෑමට ගන්න කිව්වා. ඊට පස්සෙ ඒ හැලිය හෝදල සුද්ද කරල අරගෙන, ඒකෙ උඩ කට කෑලි හතරකට වෙන්කර ගන්න කිව්වා. හැළියෙ ඉතිරි ටික වංගෙඩියකට දාල කුඩු කරගෙන පෙනේරයකින් හළල කුඩු ටික ගන්න කිව්වා. ඒ ටික බන්දේසියකට දාල අර කටු කෑලි ටිකත් එක්ක ලේස්ති කරගන්න, රෑට පැය හතරක ජීවමක් දෙනව කිව්වා. ඒ වෙලාවෙ එච්චරයි කිව්වෙ. මම ඉතින් ඒ කිව්ව විදිහටම ඒ යාළුවගෙ ගෙදරට ගිහින් මේ විස්තරය කිව්වම, ඒ අයත් හරියට ඒකට උදව් කළා. ඒ කියන්නෙ මම කළින් ඉඳන්ම හොඳට දන්න කියන යාළුවෙක්. ඒ අය අර කියපු විදිහටම බත් උයල හැලිය අරගෙන හෝදල ඒක කුඩු කරල ඒ කටයුතු ටික සියල්ලම කරල දුන්නා. එතකොට රෑ දහයට විතර ඇති. පස්සෙ ඒ ගෙදර අය නිදා ගත්තා. මම ජීවම දිගටම කරගෙන ගියා. ඒක එක දිගට කවි මාලාවකින් ගෙතිල ආපු ජීවමක්.

එතකොටම මම හීනෙකින්වත් හිතපු නැති දෙයක් සිද්ධ වුණා. ඒ අවස්ථාවෙ යේසුස් වහන්සේට සම්බන්ධ එක්තරා බලවේගයක් ක්‍රියාත්මක වුණා. යේසුස් වහන්සේට ඇණ ගහල මැරුවයි කියල කතාවට කිව්වට, යේසුස් වහන්සේට ඇණ ගහල මරන්න බෑ කියලයි ඒකෙන් කියවුණේ. සකල දෙසින් එන ජනතාව යේසුස් වහන්සේ ඉදිරියේ ඇණ තියාගෙන වාඩි වුණා කියන එකයි ඒකෙ අදහස කිව්වා. මීට කලිනුත් සඳහන් කළා වගේ ඇණ ගැහුව කියල නෙවෙයි පෙන්නුවෙ, කම්බිවලින් හදල තිබ්ච්ච කටු ඔටුන්න ඔළුවට බස්සල ඉහේ ඉඳන් වටේට කටු ඇනිල ලේ බේරෙනවා කියන එක. (යේසුස් වහන්සේ මුණ ගැසුණු අවස්ථාවක් ගැන 12 වන කලාපයේ අභයරතනාලංකාරය යටතේ පල වූ ලිපිය බලන්න) මැරුණෙත් ඇණ ගහල නෙවෙයි කියලයි කිව්වෙ. නමුත් කටු ඔටුන්න දාල වද දීල තමයි අරගෙන ගිහින් තියෙන්නෙ. ඉතින් ඇණ ගැහුවයි කියන කතාවෙදි උන්වහන්සේගෙ තිබ්ච්ච බලයක් නිසා ඒ ඇණ වැදිල නැතිව මොනව හරි වෙන්න ඇති. එහෙම නැත්නම් ඇණ ගහල තියෙද්දි ගැලවිලා අහකට විසිවෙලා යන්න ඇති. මොකද ඒ අය දෙන්න තිබ්ච්ච දඬුවම දීල ඉවර වුණාම එහෙම වුණා වෙන්නත් පුළුවන්. කොහොම හරි ඒකෙන් මළේ නෑ කියලයි කිව්වෙ. බයිබලයෙත් කියල තියෙනවා, ඉල ඇටයක්වත් කුඩු කරන්න බෑ කියල. ඉතින් අර විදිහට කියල ඒ ශක්තියේ බලයෙන් තමයි මේ දුස්සීල අමනුස්සයො යටපත් කළේ කිව්වා. ඊළඟට ඒ බලයෙන් මේ සියල්ල අහක් කරනවා කියල ඒ බලය පිහිටෙව්වා. ගුප්ත ලෝකයෙන් එහෙම හඬක් ඇවිත් ඒ අනුව මගේ අතින් තමයි ඒ ටික කළේ.

දැන් මම අර වළං කටු කුඩු ටික උඩ ගුප්ත ලෝකයෙන් දැනුම් දෙන විදිහට ඇඟිල්ලෙන් චිත්‍රයක් ඇඳ ඇඳා, ඊට පස්සෙ කටු කෑලි ටික කල්ප වෘක්ෂ හතරක් කියල වෙනම ජීවම් කළා. මේ වළං කටු කෑලිවලින් කල්ප වෘක්ෂ 4 ක් හැදුව කියන්නෙ ඒවා ජීවම් කරල අධිෂ්ඨානයක් කළා, යම්කිසි අමනුස්සයෙක් ආවොත් ඒ

අයට සම්පත්තියක් පහළ වෙන්න කියල. ඒ කියන්නෙ ඒවා හිටවපු වත්ත සීමාවට යම්කිසි බන්ධනය කරපු අමනුස්සයෙක් ඇතුළු වුණොත් ඒ බන්ධනය කැපිල ඒ සීමාවෙදිම ඒ අයට කල්ප වෘක්ෂයක් වගේ අවශ්‍ය කරන බලි බිලි ලැබෙනවා, ඒ අයට අවශ්‍ය කරන දේවල් ලැබෙනවා. ඒ සම්පත්තිය ලබා ගෙන කිසි කෙනෙකුට කරදර කරන්නෙ නැතිව නිදහස් වෙලා යන්න කියන එකයි ඒකෙන් කියන්නෙ. ඒ විදිහට තමයි අධිෂ්ඨාන කරල තිබුණෙ. එතකොට වත්ත සීමාවට ඇතුළු වන අමනුස්සයො නිදහස් වෙලා ඒ අයට අර දොලපිදේනි ලැබෙනවා. ඒ අය ඒක අරගෙන යන්න යනවා. ඊට පස්සෙ කොඩිවින වලලල ගියාට වැඩක් නෑ. ඒවා කැපෙනවා. ඉතින් ඒ වැඩේ ඉවර වෙන්න පැය හතරක් විතර ගියා.

නැවතත් ගුප්ත ලෝකයෙන් හඬක් ඇහුණා. දන් කටු කැලි හතර අරගෙන වෙන වෙනම දෙකට කඩන්න කිව්වා. ඒ කඩපු ඒවායින් භාගයක් සහ අර කුඩුවලින් භාගයක් වෙන් කරන්න කිව්වා. ඒ වෙන් කරපු භාගය ඒ ගෙදර ඉන්න අයට දෙන්න කිව්වා. ඒ ජාතියේම කොඩි විනයක් ඒ අයටත් කරල තියෙනවා, ඒ කොඩිවිනය කැපිල යන්න ඒ ගෙදර වත්තට ඉහින්න ඒ ටික ගන්න කියන්න කිව්වා. ඉතින් ඒ කියපු විදිහටම ඒ ගෙදර අයට විස්තරය කියල මම ඒ වෙන් කරපු භාගයත් ඒ අයට දුන්නා. මගේ ටික අරගෙන මම උදේම ගෙදර ඇවිත් අර කියපු විදිහටම කටු කැලි හතර වත්තෙ හතර කොනේ වළ දැම්මා. කුඩු ටික වත්ත පිටියට ඉස්සා.

ඒක කරල ඉවර වෙලා අර වගේ සමාධියට ආපු ක්‍රමයකින්ම, තුන් දෙබලක් තිබ්බ රුක්අත්තන ලීයක් අරගෙන ඒක පොළවට හිටවල අට විසි බුදුවරයන් වහන්සේලාගේ ගුණ බලයෙන් ඒ ගුණ කිය කියා ඉහළ ඉඳන් පහළට කැලිවලට කැපුවා. ඉස්සෙල්ලම කැපුවෙ අග තිබ්බ තුන් දෙබල. අන්තිමට පහළම කෑල්ල පොළොවෙ යට ඉඳන් උඩට ඇදල ඒකත් කපල දැම්මා. ඒ විදිහට නිකං කැලි කපල පැත්තකට ගොඩ ගැහුවා. වෙන මුකුත් කළේ නෑ. අවසානයේ අර දෝස සියල්ලම කැපුණා. හැබැයි අටවිසි බුදු ගුණ කිය කියා මේ රුක්අත්තන මුල කපන කොට ඒ භූමියට සම්බන්ධ කරල හිටපු ප්‍රබලම අමනුස්සයා මට අභියෝගයට වගේ ඇවිත් උරුවම් බෑවා. ඒ අමනුස්සයා තදම කළුයි. මා ළඟටම ආවා. ආවෙ මට පහර දෙන්න. මොකද දොල පිදේනි දුන්නෙ නැති නිසා. නමුත් ළඟට එනකොටම ගුප්ත ලෝකයේම තවත් දෙන්නෙක් ඇවිත් ඒ අමනුස්සයව කිහිළි දෙකට අත් දෙක දාල අල්ලගෙන ගියා. මට මොකුත් කිව්වෙත් නෑ. ඊට පස්සෙ ඈත ඉඳල කළු කිරණක් දාල යන්න ගියා. ඒ



සෙත් ශාන්තියකට මුල පුරමින්...

කියන්නෙ ඒ ජාතියේම කළු කිරණමය ශරීරයක් මවල මගේ දර්ශනයට පේන්න ඇතිත් දැම්මා. ඒ කිරණ කාලයක් යනකල්ම තිබුණා. හැබැයි බන්ධනය කැපුව නිසා ඒකෙන් මුකුත් හානියක් වුණේ නෑ.

ඊට පස්සෙ අර සියල්ල සුද්ධ වෙලා ගියා. කලින් තිබ්බ කලබලත් ඉවරයි. ඊළඟට ගුප්ත ලෝකයෙන් මටම හැඟෙව්වා, අර කලින් විසි කරල දාපු මඤ්ඤොක්ක නටු ටික කලින් විදිහටම හිටවන්න කියල. ඉතින් මම අහකට දාල තිබ්බ ඒ මඤ්ඤොක්ක නටු ටික අහුලල අරගෙන නැවතත් හිටෙව්වා. වෙන මුකුත් පෝර දැම්මෙ නෑ. මාස තුන හතරක් යනකොට හොඳට පීදිලා අතු බෙදිල ලස්සනට ලොකු වෙලා ඇවිත් බිම ඉරි තලලත් තිබුණා. මාස හතරකට විතර පස්සෙ ගලවල බලන්න කියලත් ගුප්ත ලෝකයෙන්ම පණිවිඩයක් ආවා. බලනකොට ගහ තනියෙන් ගලවන්නත් බෑ. ඒ තරම් ලොකුවට අල බැහැල. බිම මුල්ලු කරල තිබ්බ නිසා කොහොම හරි ගලවල ගත්තා. බලනකොට කකුලක් විතර තරම් ලොකු, අඩි හතරහමාරක් විතර දිග අල හතරක් තිබුණා. අනෙක් ගස්වලත් ඒ වගේ. කවදාවත් මීට පෙර ඒ වත්තෙ එච්චර විසාල අල බැහැල තිබුණෙ නෑ. එයින් එක අලයක් කපල අරගෙන ඒ කොඩිවින කරපු ඥාතියගෙ නම කියල ඒ ගෙදරට දෙන්න කිව්වා. ඒ අය මේවා කොහෙන්ද කියල ඇහුවොත්, කොඩිවින පෝරවලින් හදපු මඤ්ඤොක්ක කියල කියන්නත් කිව්වා. ගුප්ත ලෝකයෙන්ම තමයි මට ඒ පණිවිඩයත් දැනුම් දුන්නෙ. ඒ හඬ සමාධියට ඇහෙනවා. (මේ පිළිබඳ සම්පූර්ණ විස්තරයක් 19 වන කලාපයේ අභයරතනාලංකාරය යටතේ ඉදිරිපත් කරල තියෙන නිසා ඉන් එහාට ඒ සිද්ධිය විස්තර කරන්න අවශ්‍ය නෑ. ඒ ලිපිය කියවල ඒ ගැන වැඩි විස්තර බලා ගන්න පුළුවන්.)

එතකොට මේ බන්ධනය කපන්න ප්‍රධාන වශයෙන්ම අට විසි බුදු ගුණ සම්බන්ධයි, බෝධි බලය සම්බන්ධයි, තුන් සූත්‍රය සම්බන්ධයි. අවසාන වශයෙන් යේසුස් වහන්සේගෙ ශක්තියකුත් සම්බන්ධ වුණා. මොකද බුදු ගුණවලට අකමැති, ගරු කරන්නෙ නැති මහ නීච අමනුස්සයොත් ඉන්නවා. බන්ධනය කැපුණත් උන් යන්නෙ නැතිව පැලපදියම් වෙලා ඉන්නවා. රජවරු වුනත් බුදුන් වහන්සේ ළඟට බය නැතිව ගියාට ඍෂිවරු ළඟට යන්න බයයි. මොකද බුදුන් වහන්සේ බලය ක්‍රියාත්මක කරන විදිහ වෙනයි, ඍෂිවරු බලය ක්‍රියාත්මක කරන විදිහ වෙනයි. උදාහරණ විදිහට ඍෂිවරයෙක්, වසලය හස්මවිය කියල කාටහරි සාප කළොත් ඒ පුද්ගලය අළු වෙලාම යනවා. ඒ තරම් බලවත්. නමුත් බුදුන් වහන්සේ නමක් කවදාවත් එහෙම කරන්නෙ නෑ. මේ කාරණය අමනුස්සයොත් දන්නවා. ඒ නිසා උන් අයින් කරන්න තමයි යේසුස් වහන්සේගෙ ශක්තියක් සම්බන්ධ වුණේ. ඒක අපි ඉල්ලල කරපු දෙයක් නෙවෙයි, ගුප්ත ලෝකයෙන්ම සම්බන්ධ වෙලා කරපු දෙයක්.

එතකොට මේකෙන් තේරුම් ගන්න ඕන තවත් කාරණයක් තියෙනවා. අද ආගම් වශයෙන් බෙදිල සමහර මිනිස්සු ගහ මරා ගත්තට ගුප්ත ලෝකයේ ඉන්න ඉහළ කොටස් අතර එහෙම බේදයක් නෑ. ක්‍රිස්තියානි අය, මුස්ලිම් අය ගත්තත් ඒ අය ☞

විසින් ශුද්ධාත්ම වශයෙන් හඳුන්වන ඉහළ දේවතා කොටස් කිසිම ආගම් බේදයකින් තොරව එකිනෙකාට උදව් කරනවා. නමුත් පහළ ඉන්න කොටස් තමයි කාමයන්ට ලැදි වෙලා ලෝකෝත්තර පැත්තෙ යන අයට විරුද්ධ වෙන්නෙ. කාමයන්ට විරුද්ධ වුණොත් ඒ අය ඇවිස්සෙනවා. එතකල් ඒ ගැන වගක් නෑ.

ඉතින් මේ විදිහට බන්ධනය කැපුවට පස්සෙ කලින් තිබිච්ච කරදර, ප්‍රශ්න ආවෙ නෑ. ඊළඟට මම ගෙදර ඉඳගෙන සෙත් ශාන්ති ආදී කටයුතු ලොකුවට කරගෙන යන්න පටන් ගත්තා. සෙනගත් වැල නොකැඩී එන්න ගත්තා. මොකද මම යම් ප්‍රතිකර්මයක් කළේ සමාධියට යොමු කරල බලල කර්ම වේගයත් එක්තරා විදිහකට ගෙවා හැරෙන විදිහට නිසා, ඒවායින් බොහොමයක් අයගෙ තිබිච්ච දුක් කරදර ආදී ප්‍රශ්නවලට විසඳුම් ලැබුණා. කාටවත් හානියක් නොවන ධර්මානුකූල ක්‍රමවලින් විසඳුම් දීපු නිසා හුඟක් අය ඒ ක්‍රමයට කැමති වුණා. ඉතින් ඔහොම කටයුතු කරගෙන යනකොට වටේ පිටේ ඉන්න සමහර ඥාතීන්ට ඕක දරාගන්න බැරිව ඒ කටයුතුවලට විරුද්ධ වුණා. ඒ නිසා ගෙදර අයත් විරුද්ධ වෙලා තවත් කෙටෙව්වා. "ඔය වැඩේ හරියන්නෙ නෑ, ඕවා හොඳ වැඩ නෙවෙයි, කෙල්ලො එන්න පටන් ගත්තම නිකං ප්‍රශ්න එනවා, මිනිස්සුත් මගදි බැණ බැණ ගියා බොරු වැඩ කියල, මට ලැජ්ජ හිතුණා, මෙන්න මෙහෙම දෙයක් කියනව මගේ කනටත් ඇහුණා..." ඔය ආදී වශයෙන් බොරු ගොතල කියල එක්තරා ඥාතියෙක් අපේ බිරිඳව අවුස්සනවා. ඉතින් එක එකාගෙන් බැණුම් අහන්නයි, ලැජ්ජා වෙන්නයි ඔය වගේ නින්දා අපහාස අහගන්න ඕන නෑ, ඔන්න ඕක අතහැරල දාල නිකං ඉමු කියල බිරිඳ හැමදාම කියන්න ගත්තා. මම කිව්ව ඉතින් කවුරුවත් තාම අපිට වචනයක්වත් මූණට කිව්වෙ නැනෙ, මේ එක එකා හදන කතානෙ කියල. ඒ මොනව කිව්වත් හරි ගියේ නෑ, ඇය පිළිගත්තෙම නෑ.

ඉතින් මගෙත් තිබිච්ච විනිවිඳභාවය නිසා ඒ තත්ත්වය තවත් වැඩි වුණා. මොකද ඔය සෙත් ශාන්ති ආදිය මගින් එක්තරා කිරණ ශක්තියක් යොදා ගෙන ලෙඩ හොඳ කරන ක්‍රමයක් එදා මට නැගිල තිබුණා. ඒ ක්‍රමයෙදි ගෑවෙන නොගෑවෙන තරමට බිමට ඇඟිලි තුඩු ළං වෙන්න ඕන. ඊළඟට ලුණුයි පොල් තෙලුයි එකට මිශ්‍ර කරල පොඩ්ඩක් බිමට දාල බිම නිකං තලපයක් වගේ පොඩි රවුමක් හදනවා. ඒ කියන්නෙ ඒ උඩින් ඇඟිලි තුඩු කරකවනවා. එතකොට හරියට කැඳ හැලියක් කැරකෙනව වගේ පොළව කැරකැවෙනව දැනෙනවා. එහෙම කරකවල නියපොතු අගින් බෝලයක් වගේ උස්සන කොට පොළොවෙන් කිරණ වළල්ලක් වගේ ශක්තියක් ඇදල ඇවිත් මම යොමු කරන පැත්තට වදිනවා. ඒ ශක්තිය කෙනෙක්ගෙ ඇඟට දෙන කොට එක්තරා හිරිවැටීමක් වගේ හොඳ සුවයක් එනවා. මම සමාධිගත වෙලා, අත රවුමට කරකවල පොළවෙන් ශක්ති වළල්ලක් අරගෙන ඒ රෝගී පුද්ගලයා දිහා බලල යොමු කරනවා. චිත්ත ශක්තියෙන් පොළවෙ තියෙන ශක්තිය උඩට ඇදල දෙනවා. එහෙම භූමි ශක්තියක් මේ මහ පොළව යට ගැබ් වෙලා තියෙනවා. ඒක එක්තරා සමාධි ක්‍රමයකින් විශ්ව ශක්තිය, භූමි ශක්තිය ඇදල දෙන ක්‍රමයක්.

ඊළඟට දෙවෙනි වතාවටත් ඒ විදිහට ඇදල යොමු කරන කොට තවත් කිරණ වළල්ලක් ශරීරයට ඇතුළු වෙනවා. ඔය වගේ කිරණ ශක්ති වළලු හතක් එක්කෙනෙක්ගෙ ශරීරයට දෙනවා. එහෙම දුන්න ගමන්ම පුද්ගලය ඒ සුවයෙන් මත් වෙලා හිටිනවා. හැබැයි ඇඟටවත් අත තියන්නෙ නැතිව දුර ඉඳගෙන තමයි මම ඒක කළේ. ඒ තමයි කිරණ සම්බන්ධයේ හැටි. ඉස්සෙල්ලම අත් දෙක ළං කර ගන්න කියනවා. එතකොට අර සුවය දැනෙනවා. ටික වෙලාවකින් මම සංඥාවක් දෙනවා, ඇති කියල. එතකොට අර දැනෙන සුවය නවතිනවා. නැවතත් ළං කරන්න කිව්වම අත් දෙක ළං කරන්න ඕන. එතකොට අර සුවය නැවතත් දැනෙනවා. එක දිගට කළොත් දරාගන්න බැරි නිසයි ඒ විදිහට කරන්නෙ. සමහර වෙලාවට "එන්න - ඇති" කියලත් කියනවා. එන්න කියන කොට අර සුවය දැනෙනවා, ඇති කියන කොට නවතිනවා. "එකයි - දෙකයි" කියලත් කියනවා. එකයි කියන කොට නවතිනවා, දෙකයි කියන කොට නැවත ඇදල එනවා. එහෙම නැත්නම් "ටක් - ටික්" කියනවා. ඒ විදිහෙ විවිධ ක්‍රමවලින් කියනවා. මේ විදිහට මම දෙන වචන හරියට ස්විචයක් වගේ තමයි ක්‍රියාත්මක වෙන්නෙ. ඕන නම් එහෙම ශබ්ද කරන්නෙ නැතුව ඇඟිලි දෙකෙන් කරන්නත් පුළුවන්. එතකොට මම කියපු ආකාරයට තමයි ඒක ඉෂ්ට වෙන්නෙ.

ඉතින් ලෙඩේ සුව වෙන්න නම් ඔය විදිහට ඒ ශක්තිය දෙන්නම ඕන. මෙතනදි ඇති වන සුවය හරියට ධ්‍යාන සුවයක් වගේ. ස්නායු ප්‍රබෝධමත් වෙනකොට එහෙම දෙයක් වෙනවා. 70% කට විතර පිරිසකට ඔහොම කරද්දි ඒ සුවය දැනෙනවා. 30% කට විතර කිරණ වැදුණත් එහෙම සුවයක් දැනෙන්නෙ නෑ. මුලින් භූමියෙන් ගත්තු ඒ ශක්තිය පස්සෙ මම අත කරකවන්නෙ නැතිවම විශ්වයෙන් ඇදල ගත්තා. විශ්වයෙන් කැරකිලා ඇවිත් ඒ ශක්තිය ශරීරයට වදිනවා. දෙවෙනි ක්‍රමයට එහෙමත් කරන්න පටන් ගත්තා. ලෙඩ සුව වෙන්න, ශරීරයේ ස්නායු ප්‍රබෝධමත් වෙන්න ඒක අවශ්‍යයි. ඒ නිසාමයි ඒ ශක්තිය දෙන්නෙ.

හැබැයි ඒ ශක්තිය ශරීරයට ඇතුල් වුණාම දැනෙන්නෙ අර වගේ සුවයක් විදිහට. යම් කිසි විදිහකින් මම ඔය ක්‍රමය අත හෝ ඇඟිල්ල ශරීරයට තියල කළොත් ඇඟ කිලිපොලා ගිහින් ඒ ස්ථානයට ඒ සුවය දැනෙනවා. නළලට තිව්වොත් නළලට දැනෙනවා. හැබැයි මම රෝගීන්ට ප්‍රතිකාර කරද්දි ඇඟට අතවත් තියන්නෙ නැතිව දුර ඉඳගෙන තමයි ඒක කළේ. නමුත් ඉතින් ගෙදර අයට මේ ගැන කුකුසක් තිබිච්ච නිසා, බාහිර අයගෙ කේළම් අහල ඇවිස්සිලා තිබිච්ච නිසා, මේක මෙහෙම දෙයක් කියල පෙන්වන්න දවසක් මම බිරිඳගෙ නළලට ඇඟිල්ල තියල පෙන්නුවා, මෙන්න මෙහෙමයි වෙන්නෙ කියල. ඉතින් ඇයටත් ඒ සුවය දැනිල, මේක නම් හරි අමුතු දෙයක්, කාන්තාවො ඕකට යොමු වුණොත් එහෙම උන්ට ලැජ්ජා බය නැතිව යනවා, බේරෙන්න හම්බ වෙන්නෙ නෑ කියල කියන්න ගත්තා. ඉතින් ඔය ප්‍රශ්නය උඩ ගෙදර අය තවත් ඇවිස්සිලා ඔය කතාව තමයි ඊට පස්සෙ කියන්න පටන් ගත්තෙ. නමුත් මම ඇයට ඒ දේ පෙන්නුවෙ මට හංගන්න රහසක් නැති නිසා, හංගගෙන කරන කටයුතු මගේ ළඟ නැති නිසා. අන්තිමට ඒකත් නරකට හිටියා. අනික කෙනෙකුට තියෙන අසනීපයක් සනීප කරන අදහසින් මිසක්, ඔය වගේ සුවයක් දෙන්න මම ඒ වගේ වැඩ කළේ නෑ. එහෙම සුවයක් බලාපොරොත්තුවෙන් කවුරුවත් ආවෙත් නෑ. ☞

තවත් දවසක් අවුරුදු 8 ක විතර ගැහැණු දරුවෙක් උප්පත්තියේ පටන් තිබිච්ච රෝගයකට ප්‍රතිකාර ගන්න ආවා. ඒ දරුවගෙ දකුණු අත අංශක 90 ක් විතරයි නවන්න පුළුවන් වුණේ. චුති පටිසන්ධියට පසුව මව් කුසට ආවට පස්සෙ සිද්ධ වෙච්ච මොකක් හරි ප්‍රවෘත්ති විපාකයක් නිසා එහෙම දෙයක් වෙන්න පුළුවන්. ඉතින් ළමයට ඒ අතින් මුකුත් කරගන්න බෑ. බත් ටික කන්නෙත් වමතින්. උපතේ පටන්ම ඒ දුක වින්දා. මම විශ්ව ශක්තිය යොදාගෙන ශබ්ද කම්පන මගින් තමයි ඒ රෝගය සුව කළේ. මොනව හරි තෙල් ටිකක් අරගෙන ඒකට විශ්ව ශක්තිය කළවම් කරනවා. ඒකත් කිරණ ශක්තියේම තවත් ක්‍රමයක්. ඉතින් ඒ තෙල් ටික ළමයගෙ අතේ ගල්වල, අත අල්ලගෙන කටින් යම්කිසි ශබ්දයක් දෙනවා. ඒ ශබ්ද කම්පන අනුව ඇඟිලි තුඩු අත දිගේ ගෙනිහින් ටිකෙන් ටික අත දිගහරිනවා. කටින් ශබ්ද කළාට ඇඟිලි තුඩුවලින් තමයි ඒ ශක්ති තරංග ශරීරයට ඇතුල් වෙන්නෙ. හරියට මන්තර ක්‍රමයක් වගේ. මුළු අතම වට කරල ඒක දෙනවා. දවසකට විනාඩි පහක් දහයක් තමයි ඒක කළේ. නැවත වරක් එන්න කියල ඔය විදිහට දවස් තුනයි කළේ. සම්පූර්ණ අතම නැවෙන්න ගත්තා. කිසි අමාරුවක් නෑ, රිදෙන්නෙත් නෑ. අන්තිමට ඒ අතින් ඔක්කොම වැඩ ටික කරගන්න පුළුවන් වුණා. ඒ ප්‍රතිකාරය ඇරෙන්න ඒ ළමයට වෙන මුකුත් කරන්න ඕන වුණේ නෑ.

ඔය අතර අනාචාරයේ යෙදිල දරුවෙක් ලැබිච්ච ස්ත්‍රියකුත්, ඒ දරුවට තිබිච්ච අසනීපයකට ප්‍රතිකාර ගන්න ආවා. ඒ පුරුෂයා අවස්ථාවයි දෙකයි මේ කාන්තාවත් එක්ක ඉඳල තිබුණේ. ළමය ලැබෙන අවස්ථාව වෙනකොට කාම සේවනයක් තිබිල නෑ. මොකද ඒ කාන්තාවයි පුරුෂයයි හොර රහසේ ඇසුරු කළා මිසක් විවාහයකට ඇතුල් වෙලා නෙවෙයි මේ දරුව ලැබිල තිබුණෙ. නිකං මේ පාරෙ යනකොට ඇදගෙන ගිහින් වෙච්ච දෙයක්. ඊට පස්සෙ ළමයෙක් බඩට ආව කියල දැනගත්තම මේ මිනිහ ගමේවත් ඉන්නෙ නැතිව පැනල ගියා. මේ කාන්තාව තනි වෙලා ළමය හදාගෙන ගෙදර හිටියා. ඉතින් මේ ළමයට බඩේ ඉඳෙද්දි ඒක එක්තරා අඩුපාඩුවක් වෙලා තිබුණා. ඒ අඩුපාඩුව නිසා මේ ළමයට නිතරම හොඳ කරන්න බැරි සෙම අමාරුවක් තිබුණා. මේ වගේ අවස්ථාවක යම් කිසි දරුවෙක් බඩට ආවොත් ඒ දරුවගෙ පෝෂණයට ඒ දෙමව්පියන් අතර කාම සේවනයක් තියෙන්න ඕන. ඒ සේවනය නැත්නම් බඩේ ඉන්න දරුවා හරියට පෝෂණය වෙන්නෙ නෑ. මොකද නැත්නම් ඒ මව් ශෝකයෙන් ඉන්න කොට, මව්ට සුඛාස්වාදයක් නැති වෙන කොට ඒක බඩේ ඉන්න දරුවටත් බලපානවා. ඕක ඉතින් ඉස්සර හිටපු අපේ දේශීය වෙද මහත්වරු නම් දැනගෙන හිටියා. ඒ අඩු පාඩුවෙන් තමයි මේ දරුවටත් අර සෙම් දෝසය ආවෙ.

ඔය සිද්ධිය සමාධියට යොමු වෙලා ඒකට කරන්න ඕන ප්‍රතිකර්මයත් මට සමාධියෙන්ම නැගිල ආවා. ඉතින් මම ඇයට කිව්වා, ඔය ස්ථානයේම ඉඳගෙන ළමයට කිරි දෙන්න කියල. එහෙම කියල මම සමාධිගත වෙලා ඒ කාන්තාව දිහාවට අර වගේ කිරණ ශක්තියක් යැව්වා. පස්සෙ ඒ ළමය කිරි අදින කොට මේ කාන්තාවට අර සුවය දැනෙන්න ගත්තා. ඊට පස්සෙ ළමයට කිරිත් එක්ක වමනෙ ගිහින් අර සෙම ටිකත් අයින් වෙලා ඒ අසනීපය එහෙම්ම සනීප වුණා.

දැන් මේ කාන්තාව නැවත ගෙදර යන ගමන් මොකද කළේ, මට මහ පුදුම වැඩක් වුණානෙ කියල ළඟ තියෙන අපේ ඥාති ගෙදරටත් ගොඩ වෙලා මේ කතාව කිව්වා. එතකොට අපේ අම්මත් එතැන හිටියා. පුතා මට මෙහෙම කරන්න කිව්වා, ළඟට ආවෙවත් නෑ, අත මෙහෙම කළා එච්චරයි, ළමයට කිරි දීල ඉවර වෙනකල් මට මෙහෙම දෙයක් වුණා කිව්වා. ඒකෙන් ඥාතීන් තවත් ඇවිස්සුණා. මේ වගේ ඉතින් විවිධ අසනීප තියෙන අය එන්න ගත්තම ඒ අය නිතරම යනව එනව පේනවා. මෙහෙම දෙයක් සිද්ධ වෙනව කියල දැන ගත්තා. ඉතින් මේක හරියන වැඩක් නෙවෙයි කියල, ගෙදර අය ආයෙත් ඒකට විරුද්ධව අඬෝනා තියන්න ගත්තා. අන්තිමට ගෙදර අයගෙන් බේරෙන්න බැරිම තැන මම වැඩේ අතෑරල නිකං හිටියා. ඒ සෙත් ශාන්ති ආශිර්වාද කටයුතු නවත්වල දැම්මා. ඒත් ඉතින් ජීවත් වෙන්න ක්‍රමයක් නැති නිසා, මම නැවතත් පිට අයගෙ පොඩි පොඩි පුද්ගලික වැඩවලට ගියා. ජාඇල තිබිච්ච බලවේග යන්ත්‍ර කර්මාන්ත ශාලාවකත් වැඩට ගියා. යන්ත්‍ර ක්‍රියා කරවන්නෙක් විදිහට ටික කාලයක් එහෙත් වැඩ කළා. යන්ත්‍ර හතරක් මට බලා ගන්න තිබුණා. හැබැයි අර පූගොඩ, තුල්හිරියෙ වගේ වැටුපක් ලැබුණෙ නෑ. බොහොම සොච්චම් වැටුපයි ලැබුණෙ. ඒක ජීවත් වෙන්න මදි. ඒ විදිහටත් මාස කිහිපයක් ගිහින් ඒකත් වැඩක් වුණේ නැති නිසා අන්තිමට නතර කළා.

ඉතින් මේ සෙත් ශාන්ති ආදී මොන කටයුතු කළත් ඒකටත් වෙහෙස මහන්සියක් වෙන්න සිද්ධ වුණා. ලොකු කායික වෙහෙසක් නැතත් අර වගේ අපවාද එල්ල වෙන කොට මම නිකං ගිරයට අහුවෙච්ච පුවක් ගෙඩියක් වගේ. මානසික පීඩනයක් එල්ල වෙනකොට ඒකටත් මුහුණ දෙන්න ඕන. ජීවත් වෙන්නත් ඕන. පවුලෙ අනික් අයට සළකන්නත් ඕන. මිනිස්සු විවිධ අසනීප කරදරවලට අඩාගෙන එනකොට ඒවටත් උදව් උපකාර කරන්න ඕන. ඒ ගින්දර මැද්දෙම මේ සංසාර බය, සංසාර දුක දැකල තිබුණ නිසා සසර ගමන කෙළවර කරගන්න වැඩ කටයුතු ටිකත් ඉක්මන් කරගන්න ඕන. ඉතින් මේ ඔක්කොම එකතු වෙලා මහා දුක් ගිනි කඳක් මැදින් තමයි ජීවිතය ගෙනියන්න සිද්ධ වුණේ. ඒ නිසා අර වගේ අධ්‍යාත්මික ශක්තියක් මතු වෙලා තිබුණත්, ඒ එකක්වත් හොඳයි කියනව නෙවෙයි. ඒවත් පවත්වන්න ගියාම, ලෝකයාට දෙන්න ගියාම, ඒවට විරුද්ධව එන බලවේග මැඩපවත්වන්න ගියාම ඒකත් මහ දුකක් වෙහෙසක්ම තමයි. මොන විදිහෙ හොඳ වැඩ කරගෙන හිටියත් ලෝකෙ හැටි ඔහොමයි. අපි බලාපොරොත්තු වෙන විදිහට සිද්ධ වෙන්නෙ නෑ. පෙළෙන ස්වභාවයේ ඉවරයකුත් නෑ. එක්කො කායික වේදනාවන්ගෙන් පෙළෙනවා. එහෙම නැත්නම් මානසිකව පෙළෙනවා. එහෙමත් නැත්නම් මේ දෙකෙන්ම පෙළෙනවා. එක පෙළීමකින් නිදහස් වෙනකොට තව එකක් එනවා. ඉතින් මුළු ජීවිත කාලයේම ඒවාට තාවකාලික පිළියම් හොය හොයා රවුම් ගහන එක තමයි ලෝක සත්වයා කරන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# තවත් රෝග කිහිපයකට ප්‍රත්‍යක්ෂ සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහිවතක සිටියදී සිදු කළ එක සත් කටයුත්තක් තමයි යම් කිසි සමාධි බලයකින් මතු කරගත් ඖෂධ ප්‍රතිකාර ක්‍රම. ඒ කාලයේ උන්වහන්සේ හමු වීමට පැමිණි විවිධාකාර රෝගීන් සඳහා බේත් සමාධියට හසු වූ තවත් අත්දුටු බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. මීට පෙරත් සඳහන් කළා වගේම එකම රෝගයට විවිධ රෝගීන් සඳහා විවිධ බෙහෙත් වර්ග තියෙන්න පුළුවන්. ඒ වගේම ඒ බෙහෙත්වලින් සුව වීමත් එක් එක් රෝගීන්ට විවිධාකාරයෙන් සිද්ධ වෙන්න පුළුවන්. කෙනෙකුට එක බෙහෙතකින් සුව වෙනකොට තවත් කෙනෙකුට ඒ බෙහෙතෙන් සුව නොවී වෙනත් බෙහෙතකින් සුව වෙන්න පුළුවන්.

කර්ම විෂය, ලෝක විෂය කියන මේවා අචින්ත්‍ය නිසාත්, ලෝකය බහු හේතුක නිසාත්, ඒවාට හේතු පැහැදිලි කිරීම හරියටම කරන්න පුළුවන්කමක් නෑ. නමුත් කිසිම අතුරු ආබාධයක් නැති නිසාත්, විශේෂ වියදමක් යන්නෙ නැති නිසාත් එකම රෝගයට අදාළ විවිධ බෙහෙත් වර්ග විවිධ අවස්ථාවලදි සඳහන් කරන්නෙ, මේ කොයි එකකින් හෝ කෙනෙකුට ප්‍රත්‍ය වෙලා රෝග සුව වීම සිද්ධ වෙන්න හේතු වන නිසා. ඒ වගේම මීට කලිනුත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ප්‍රත්‍ය වීම ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තියට යටත්ව සිද්ධ වෙන බවත් තේරුම් ගන්න ඕන. ඒ වගේ පොදුවේ මතු කළ අත් බෙහෙත් කිහිපයක් තමයි මේ.



### බඩේ අම්ල අජීර්ණ දුරු කිරීම සඳහා

ඉඟුරු පියලි, වලඟසාල්, අසමෝදගම් ඇට, තිප්පිලි, අරළු, වැල්මී කියන මේ අමු ද්‍රව්‍ය සමව අරගෙන, හොඳට කුඩු කරල, ඒ සියල්ලම පොල් කිරෙන් අඹරල තිත්බටු ගෙඩියක් තරමෙ ගුලි හදල උදේ රාත්‍රී කෑමට පසු ගැනීමෙන් සියළු බඩේ අජීර්ණ දුරු වෙන්න හේතු වෙනවා.



### දත් කැක්කුම දුරු කිරීම සඳහා

ඉඟුරු මුල්, කොහොඹ පොතු, නික පොතු, අරළු, සුදුළූණු කියන මේ අමුද්‍රව්‍ය සමව අරගෙන තම්බල, මඳ පමණට නිවාගෙන විනාඩි 5 ක් පමණ මුඛය තුළ තියාගෙන කැලතීමෙන්, ලේ කාරම් ඇදිල වේදනා දින 3 කින් පමණ සුව වෙන්න හේතු වෙනවා.



### ඉරුවා රදයට කෙමක්...

විශේෂයෙන් කාර්ය බහුල උදවිය අතර බහුලව පවතින රෝගී තත්ත්වයක් තමයි ඉරුවා රදය කියන්නෙ. මේ රෝගය හැදුණට පස්සෙ ඔළුව කෙළින් තියාගෙන වැඩ කරන්න බොහොම අමාරුයි. ඒ සඳහා පාවිච්චි කරන්න පුළුවන් එක්තරා කෙම් ප්‍රතිකාරයක් තමයි මේ.

උදේ වරුවට අමු කහ කෑල්ලක් ඉස් මුදුනෙ අතුල්ලල, ඒ කහ කෑල්ල බිම දමල විළුඹෙන් පොඩි කරල, පයින්ම පිටුපසට විසි කරල අඩි 2 ක් පමණ ඉදිරියට යන්න. මේ විදිහට දින 3 ක් කළාම ඉරුවා රදය සුව වෙනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ

වස විස ගැන අද වෙන කොට සමාජයේ කවදාවත් නැති විදිහට කතා බහට ලක් වෙන්න පටන් අරගෙන තියෙනවා. විශේෂයෙන් කන බොන ආහාරවලට වස විස මිශ්‍ර වීම නිසා අද වෙන කොට වකුගඩු රෝගය, පිළිකාව, අංශභාගය, දියවැඩියාව ඇතුළු රෝග ගණනාවක් ඔඩු දුවන මට්ටමට පත්වෙලා විසඳුම් නැති අවුල් ජාලාවක් බවට පත් වුණාට පසුව තමයි කාගෙ කාගෙත් ඇස් ඇරෙන්න පටන්ගෙන තියෙන්නෙ. තත්ත්වය එහෙම වුණත් තවමත් ඒ ගැන හරියට හොයල බලල නිසි පිළියම් යොදනවා වෙනුවට, අතීසාරයට අමුඩ ගහනව වගේ ක්‍රමවේදවලට තමයි හුඟක් අය පෙළඹිලා තියෙන්නෙ. එහෙම නැත්නම් ඒ ගැන වගක් නැතිව නිකං බලාගෙන ඉන්න තත්ත්වයට පත්වෙලා.

මේ මාරාන්තික රෝගවලින් විසාල පිරිසක් රෝගීන් බවට පත් වෙමින් මරණය කරා ඇදෙද්දි, වස විස භාවිතයට නිසි විසඳුම් දෙනව වෙනුවට, ඒ සඳහා විකල්ප භාවිතා කරනව වෙනුවට, හැදෙන හැදෙන රෝගීන්ට විවිධ බෙත් කර කර හිඟන්නගෙ තුවාලය වගේ ඇදගෙන යාමක් තමයි තවමත් කරන්නෙ. විශේෂයෙන් වකුගඩු අක්‍රිය වුණාම යන්ත්‍රවලින් ලේ සුද්ධ කිරීමත්, තත්ත්වය තවත් දරුණු වුණාම වකුගඩු බද්ධ කිරීමත් කරනව හැර ඒ තත්ත්වය තවදුරටත් ඇති වීම වළක්වන්න විසඳුම් අරගෙන නෑ. අඩු ගානෙ ඉදිරි පරම්පරාවවත් මේ තත්ත්වයෙන් ආරක්ෂා කර ගන්න විධිමත් පියවර අරගෙන තියෙන බවක් පේන්න නෑ. ඒ සම්බන්ධයෙන් ජනතාව දැනුවත් කිරීම ඉතාමත් ඇල් මැරුණු මට්ටමක තමයි පවතින්නෙ.

මේ තත්ත්වය තවදුරටත් බලාගෙන සිටීම බොහොම දරුණු පල විපාක අත් කර දෙන බව පෙන්වා දෙන්නත්, ඒ සඳහා මේ වෙන කොට ගන්න පුළුවන් විකල්ප හඳුන්වා දීමත් තමයි මේ ලිපියේ අරමුණ. ඒ නිසා කවුරුවත් ආරක්ෂා නොකර, කිසිම සැඟවීමකින් තොරව මේ කරුණු ඔබ හමුවේ දිග හැරෙන්නෙ, ඇස් ඇති අය ඇස් ඇර බලත්වා කියන අදහසින්. මීට පෙරත් වරින් වර මේ සඟරාවෙ මේ සම්බන්ධයෙන් කරුණු ඉදිරිපත් කළත්, එදා නොකියවෙච්ච කාරණාත් සමග ඒ කාරණය එල්ල කරලම විග්‍රහ කිරීමක් තමයි මේ කරන්නෙ.

වස විස කිව්වම අවසන් ප්‍රතිඵලය තමයි මරණය හෝ ඒ හා සමාන දුකකට පත් වීම. ඇසුරු කරන දේ වහන අර්ථයෙනුත් වහ + අස - වස කියල කියනවා. ඒ කියන්නෙ අපේ ශරීරයට අවශ්‍ය පෝෂණය වහල දානවා. වස වැදුනම එතැන කුණු වෙලා පිච්චිලා යනවා. ඒ තමයි වසවල



ස්වභාවය. වි + අස - විස කිව්වම ඇසුරට ගන්න දේවල් විනාස කරනවා, වනසනවා කියන අර්ථය තමයි එන්නෙ. මේ තමයි මේ පදවලින් කියවෙන පද නිරුක්තිය. මේ ක්‍රම දෙකෙන්ම එන අවසන් ප්‍රතිඵලය එකයි.

උදාහරණ විදිහට සත්ත්ව විසක් ශරීරයට වැදුණොත් ඒ ස්ථානයේ ලේ එන්නෙ නැතිව යනවා. අතකට දෙබරෙක් ඇන්නොත් බලා ඉඳෙද්දිම ඒ ස්ථානය සුදු පාට වෙනවා. ඒ සීමාවට ලේ ගලන්නෙ නැතිව යනවා. මොකද ඇසුරට එන්න දෙන්නෙ නෑ, වහල දානවා, විකර්ෂණය කරනවා. යම්කිසි තැනකට ලේ ආවම තමයි අපද්‍රව්‍ය ඉවත් කරල අවශ්‍ය පෝෂණය සිද්ධ වෙන්නෙ. නමුත් වස විස නිසා ඒක කරන්න දෙන්නෙ නෑ. සර්ප විස ගත්තත් ස්වභාවය ඒකයි. හැබැයි මේ කියන්නෙ සර්ප විස ගැන නෙවෙයි, මනුස්සයො ප්‍රයෝග විපත්තියක් හදා ගත් කෘමි නාශක, වල් නාශක හා රසායනික පොහොර ආදී වස විස ගැන.

එතකොට අපේ පැරැන්නන් ගොවිතැන් බත් කරන්න මේ කියන වස විස පාවිච්චි කළේ නෑ, රසායනික පොහොර භාවිතා කළේ නෑ. මේ අවුරුදු 50 - 60 ක තරම් මෑත කාලයක පටන් තමයි මේ ඔක්කොම දහජරාව එන්න පටන් ගත්තෙ. විශේෂයෙන් ලද පමණින් සතුටු නොවී තණ්හාවෙන් වැඩි අස්වැන්නක් ඉක්මනින් බලාපොරොත්තුවෙන් විදෙස් මැදිහත්වීම් හරහා රාජ්‍ය මට්ටමින් දියත් කරපු උපක්‍රමවල ප්‍රතිඵලයක් තමයි මේ වස විස භාවිතය. ඒ කියන්නෙ විදෙස්වලින් වැඩි අස්වැන්නක් ලබා ගැනීමේ ක්‍රම භාවිතය සම්බන්ධයෙන් වාර්තා සකස් කරල රජයට දැනුම් දුන්නම ඒ අය ඒක අනුමත කරනවා. හැබැයි විදෙස් රටවල යටි අරමුණ තමයි ඒ අයගෙ කෘෂි රසායන නිෂ්පාදන විකුණාගෙන මුදල් ඉපයීම. ඒ නිසා රසායන පොහොර, කෘමි නාශක, වල් නාශක අනුමත වුණා. ඒකෙ ප්‍රතිඵලය විදිහට ඉස්සෙල්ලම ගොවියන්ට පුරුදු කළේ රසායනික පොහොර භාවිතය. ඉතින් දැන් ඉන්න බොහොමයක් ගොවි ජනතාව අතීතයේ හිටපු ගොවියො වගේ දහම් දැනුමින්, නිසි ක්‍රමවේදවලින් පෝෂණය වෙච්ච අය නොවන නිසා ඒ අයත් ඉවක් බවක් නැතිව තමන්ගෙ තාවකාලික ලාභය තකා ඒවටම ඇබ්බැහි වුණා.

මේ කෘතිම රසායනික පොහොර නිසා පොළොවෙ තියෙන රසය අනිකුත් රසායනත් එක්ක ඉක්මනින් උඩට ඇදල එනවා. නයිට්‍රජන්, පොස්පරස්, පොටෑසියම් කියන ප්‍රධාන

වර්ග තුන තමයි පොහොර කියල විවිධාකාරයෙන් මිශ්‍ර කරල දෙන්නෙ. යූරියා සහ ඇමෝනියම් සල්ෆේට් කියන පොහොර වර්ග දෙකේ තියෙන්නෙ නයිට්‍රජන්, පොටෑසියම් කියන සංඝටක දෙක. ඊළඟට සුපර් පොස්පේට් කියල තවත් වර්ගයක් තියෙනවා. ඒකෙ තියෙන්නෙ පොස්පරස්. තවත් වර්ගයක පොටෑසියම් තියෙනවා. ඉතින් මේ නයිට්‍රජන්, පොස්පරස්, පොටෑසියම් කියන වර්ග තුන ප්‍රධාන වශයෙන් එක එක මට්ටම්වලින් කලවම් කරල තමයි කෘතීම පොහොර වර්ග හදන්නෙ.

ඊළඟට ඒ රසායනික පොහොර ගැහුවම කෘමිනාශක නොගහ බැරි වුණා. කෘමිනාශක ගැහුවෙ නැත්නම් කෘමීන්ගෙන් වගාව විනාස වෙන මට්ටමට ආවා. මොකද රසායනික පොහොර නිසා ළපටි කොළ ඉක්මනට සරුසාරව හැදෙන කොට කෘමීන්ට රසය වැඩියි. උන් ඒකට බොහොම ප්‍රියයි. ඒ නිසා උන් ඒව ඉක්මනට කනවා. ඒ කොළ කෘමීන්ට සංවේදී වැඩියි. උන් ළපටි කොළවල බිත්තර දාන්න එනව වැඩියි. අන්තිමට වසංගතයක් වගේ ඉක්මනට බෝ වෙන්න ගත්තා. ගොයමට අමතරව පළතුරු එළවළු වර්ගවලටත් ඒකමයි වුණේ. ඊළඟට ගතයුතු පියවර විදිහට නිර්දේශ වුණේ කෘමිනාශක භාවිතය. එතකොට කෘමිනාශක යොදන්නම වුණා. රසායනික පොහොර භාවිතයෙන් පස්සෙ කෘමි නාශක භාවිතය පටන් ගත්තෙ ඒ විදිහට. විදේශිකයො තමයි ඒවා පළමුවෙන්ම අපේ රටට එව්වෙ. ඒවා ගැහුවම වැඩි අස්වැන්නක් ගන්න පුළුවන්. බාගෙන කන වළ ඉහගෙන කනව වගේ වැඩක් ඊට පස්සෙ වුණේ.

ඉස්සර ඇට කුඩු කියල දේශීය කාබනික පොහොර වර්ගයක් තිබුණා. සතුන්ගෙ ඇට කටු වගේ අපද්‍රව්‍ය තමයි ඒකෙ තිබුණෙ. ඒවා සියුම්ව කුඩු කරල ගත්ත පෝර වර්ගයක්. මඩ පෝර කිව්වෙත් ඒකට. ඒ කියන්නෙ ඉස්සෙල්ලම ගොයම් ගහට මුල් ඇද ගන්න මඩට දාන පෝර. ඒක බොහොම වටිනවා. ඒවා ගැහුවම කෘමීන්ගෙ වැඩි වීමක් හෝ මනුස්සයට විස වීමක් හෝ වෙන්නෙ නෑ. ඉස්සර හිටපු මිනිස්සු ඔය ඇට කුඩු කියන පෝර වර්ගය එළවළුවලටත් දැම්මා. එළවළු හොඳට හැදෙනවා. හොඳ අස්වැන්නක් ලැබෙනවා. මිනිස්සු ඕක වැඩිපුර භාවිතා කරන්න ගත්තම මොකද කළේ, ඒක නොදී ඒ වෙනුවට වෙනත් රසායන පොහොර වර්ග දුන්නා. ඔයින් මෙයින් තමයි මිනිස්සු රසායනික පොහොරවලට ඇබ්බැහි වුණේ. ඊට පස්සෙ එක දෙක වෙලා අස්වැන්න ලැබෙන්න ගත්තා.

මුල් කාලෙ ඒ රසායනික පොහොරවලට, කෘමිනාශකවලට ගිය වියදම බොහොම අඩුයි. හුඟක් අඩු මුදලකට තමයි ඒවා දුන්නෙ. මොකද ව්‍යාප්ත කරන්න ඕන නිසා. මේක ව්‍යාප්ත වුණාට පස්සෙ වැඩි අස්වැන්නක් ගන්න නම් ඒවා යොදන්නම ඕන කියල මනුස්සයට කැදරකමක් ඇති වුණා. ඉල්ලුම වැඩි වෙන කොට ඒවා නිෂ්පාදනය කරන සමාගම් මොකද කළේ, වැඩි මිලකට විකුණන්න පටන් ගත්තා. ඒ විදිහෙ සියුම් නූල් සූත්තර ක්‍රමයකට තමයි අපේ ගොවියො මේ කපටිකම්වලට අහු වුණේ.

දැන් ඉතින් ඊළඟට අස්වැන්න ගන්න, අර ස්වභාවික පොහොරින් හිස් වෙච්ච ඉඩමට කෘතීම පොහොර නොගහ බැරි වුණා. ඒ කෘතීම පොහොර යොදන්න යොදන්න ඒකෙ අවශ්‍යතාවයත් වැඩි වුණා. ඒකෙන් මොකද වුණේ, පසේ තියෙන හියුමස් කියන පෝෂ්‍ය කොටස දිරල ගිහින් වැලි බවට පත් වුණා. අන්තිමට පොළව වැල්ල වගේ වුණා. කුඹුරුවල එරෙන ගතිය නැති වෙලා ගියා. හැල් කුඹුරු කියන ඒවා එරෙන්නෙ නැතිව තනිකරම වැලි වෙලා ගියා. ඒ තරමට දුර්වල වුණා. ඒ හියුමස් තට්ටුව පිච්චිලා ගියා වගේ වුණා. ඊට පස්සෙ රසායන පොහොර දාන්නෙ නැතිව වගා කරන්න බැරි මට්ටමට ආවා. ඒකට අනුවර්තනය වුණා. ඔය ප්‍රශ්නය තමයි අන්තිමට බලපෑවෙ. දැන් ඉතින් නැවත වතාවක් බොහොම අමාරුවෙන් තමයි රසායන පොහොර අයින් කරල කාබනික පොහොර යොදල ඔය හියුමස් තට්ටුව වැඩි කරල පොළොව බේර ගන්න වෙන්නෙ. හැබැයි මේ කාලෙ වුණත් එහෙම ක්‍රමානුකූලව හදාගන්න පුළුවන් ක්‍රම නැත්තෙ නෑ. රජය මැදිහත් වෙලා, හරියට ගොවියො දැනුවත් නොකරන එකයි ගැටළුව.

ඉතින් රසායනික පොහොර භාවිතා කරන්න පෙර මේ කෘමි වසංගත බොහොම අඩුවෙන් තිබුණෙ. ඒවත් පැරණි කෙම් ක්‍රම, ගාථා, ස්වභාවික කෘමි විකර්ශක ආදී ක්‍රමවලින් තමයි දුරු කර ගත්තෙ. ඒවායෙ වැඩි වියදමකුත් නෑ, හානියකුත් නෑ. අනෙක් කාරණය තමයි ඉක්මනට වැඩි අස්වැන්නක් ගන්න කියල කෘතීම වී වර්ග මිශ්‍ර කරල හැදුවම ඒකත් කෘමි වසංගත වැඩි වෙන්න බලපෑවා. මොකද හොඳට හැදෙන නිසා උන්ට රසය වැඩියි. එතකොට ඒ ගොයම් ගහට එන විවිධාකාර කෘමි සතුන්ගෙ බලපෑම වැඩියි. ස්වභාවික වී වර්ග නම් කෘමීන්ට හොඳට ඔරොත්තු දෙනවා. කෘමි නාශක ගහන්න ඕන නෑ. මොකද ප්‍රතිශක්තිය වැඩියි. අර වගේ ප්‍රශ්න එන්නෙ නෑ. ඉතින් අපේ රටේ මේ වෙන කොට පාවිච්චි නොකරන ස්වභාවික වී වර්ග සෑහෙන ප්‍රමාණයක් තියෙනවා. ඒවා පැරණි කාලයේ පටන් පැවත එන බොහොම වැදගත් වී ජාති. පෝෂණ ගුණයත්, රෝගවලට ඔරොත්තු දීමේ ශක්තියත් වැඩියි. නැවතත් බිත්තර වී විදිහට හදල ඒවා පාවිච්චියට ගන්න පුළුවන්.

දැන් ඉතින් මේ තියෙන ජරා ජීර්ණ ක්‍රමය තුළ ඉඳගෙන අපිට කරන්න දෙයක් නෑ. මොකද හැම පැත්තෙන්ම වස විසවලින් කොටු කරල තියෙන්නෙ. ඒවාට අත ගහල තියෙන්නෙත් බහු ජාතික කියන මහා පරිමාණ සමාගම්. ඒ අය වෙළඳ දැන්වීම් හරහා මිනිස්සු ගොනාට අන්දන්නත් ඇති පදමට මුදල් විසි කරනවා. අපේ ඉන්න මෝඩ මිනිස්සුත් මුදලට කෑදර වෙලා ඒවට රැවටෙනවා.

දැන් කුඹුරක් හදන්න පෙර, හේන් ගොවිතැන් කරන කොටත් මහ කැලෑවට ඉස්සෙල්ලම ගහන්නෙ පැරකොට් කියන රසායනය. එතකොට මුළු කැලෑවෙම තියෙන ගස් වැල් සම්පූර්ණයෙන්ම පිච්චිලා යනවා. ඊළඟට කැලෑවම ගිනි තියල අළු කරල දානවා. ඒ වස වැදිච්ච තැනම පොළවට කා වැදිල අල්ලල හිටිනවා. ඉතින් මහ කැලෑවම විනාස වෙනවා. ස්වභාවික චක්‍ර ඔක්කොම අවුල් වෙනවා. කුඹුරුවලටත් පස තැම්බෙන්න ගහන්නෙ ඕකම තමයි. එතකොට වෙන්නෙ පෝර හදන, හියුමස් තට්ටුව හදන ගැඩවිල්ලු වගේ සත්තු මැරෙන එක. ගැඩවිලා යට තියෙන පස් කාල උඩට මතු කරනවා. උන්ගෙ අපද්‍රව්‍යයි, ඒ සියල්ලමයි එකතු වෙලා හැදෙන වටිනා කාබනික ද්‍රව්‍යයක් තමයි හියුමස් කියන්නෙ. සරුසාර පොළොවකට ඒ හියුමස් තට්ටුව අත්‍යවශ්‍යයෙන්ම ඕන. නැත්නම් වගාව සාර්ථක නෑ. ඒක විශේෂයක්. නමුත් මේ

කියන කෘතීම වස විස භාවිතය නිසා ඒ හියුමස් තට්ටුව පිච්චෙන්න ගන්නවා. ඒක නිර්මාණය කරන සත්තුත් එතැන් පටන් විනාස වෙනවා.

ඊළඟට කාබොෆියුරන් කියල තවත් රසායනික බේතක් තියෙනවා. ඒක වතාවක් ඒ බේත ගැහුවම හය මාසයක් යනකල් නැවත අවශ්‍ය වෙන්නෙ නැති නිසා මිනිස්සු ලේසියට ඒක ගහනවා. මොකද ඒ විස වැදුනම මුළු ගහටම උරා ගන්නවා. ඉතින් හය මාසයක් යනකල් ගහේ විස තියෙනවා. ඒ තාක්කල් ඒ ගහ සතෙක් කන්නෙ නෑ. අන්තිමට මිනිස්සුන්ටම තමයි ඒක කැවෙන්නෙත්. ඉතින් සත්තු බේරිලා මිනිස්සු මැරෙනවා. ඒවා මුලදි දැම්මෙ කෙසෙල් ගස්වල වඳ බහිනවට. නමුත් පසුව එළවලු වගාවටත්, කුඹුරුවලටත් දාන්න පටන් ගත්තා. ඒක දැම්මට පස්සෙ අස්වැන්න ගන්න කල් වෙන මුකුත් බේතක් ඕන නෑ. මුලින්ම පොළොවට තමයි ගහන්නෙ. ඒවා අධික විස වුණත් ගොවියො දන්නෙ නෑ මේකෙ විස තත්ත්වය මෙච්චරයි කියල. මොකද ඒ අය ඔය වාර්තා එකක්වත් පිළිගන්නෙ නෑ. ඒවායෙ තරම දන්නෙ නෑ. කවදාවත් සාමාන්‍ය ගොවියෙකුට ඒවායෙ තියෙන විස මාත්‍රා සම්බන්ධයෙන් වාර්තා හදන්න තේරෙන්නෙ නෑ. රජය මැදිහත් වෙලා කරන විශේෂ පරීක්ෂණ මගින් මිසක් ඒවා සාමාන්‍ය අයට අඳුන ගන්න බෑ. ඒ අයට තාක්ෂණ දැනුමක් නෑ.



ඉතින් ඒ අය මොකද කරන්නෙ, වැඩි අස්වැන්නක් ගන්න තියෙන ක්‍රමය ඒකයි කියල දැන ගත්තම ඒක අනුගමනය කරනවා. නමුත් ඒක භාවිතය නිසා මෙච්චර කාලයක් ගිහින් මෙහෙම හානියක් වෙනවා, සත්තු මෙච්චර මැරෙනවා, මෙච්චර විසක් ශරීරගත වෙනවා, මෙච්චර විස ප්‍රතිශතයක් ඉතිරි වෙනවා... මේ එකක්වත් අද ඉන්න සාමාන්‍ය ගොවිරාළල දන්නෙ නෑ. ඒවා ගොවියන්ට කියල දීල වැඩකුත් නෑ. විශේෂඥයන් විසින් කරන්න ඕන වැඩ. විශේෂඥයො ඔය ටික කරල, ගොවි කම්කරුවො ලවා වැඩ ගන්න එකයි කරන්න ඕන. වෙන රටවල කරන්නෙ එහෙමයි. ඒ රටවල්වල ගොවිතැනට උපදෙස් දෙන්න වෙනම විශේෂඥයො ඉන්නවා. ඒ අය තමයි ඒ යොදන පොහොර, බේත් වර්ග ආදියේ මාත්‍රාවන් නිර්දේශ කරන්නෙ. ගොවි කම්කරුවො කරන්නෙ කිව්ව විදිහට වැඩේ කරන එක. ඒ හේතුවෙන් යම්කිසි පාලනයක් සිද්ධ වෙන නිසා වෙන රටවල මෙහේ වගේ ප්‍රශ්න වෙලා නෑ. අපේ තමයි ඔක්කොම ප්‍රශ්න. මොකද නොසැළකිල්ලෙන් කෘමිනාශක, රසායනික පොහොර ආදිය භාවිතය.

ඉතින් ඕක අපි කිව්වට සාමාන්‍ය ගොවියො අහන්නෙ නෑ. එහෙම තේරුම් ගන්න තරම් විශේෂ දැනුමක් ඒ අයට නෑ. ඒ අයට යම්කිසි විදිහකින් වැඩි අස්වැන්නක් ගන්න ක්‍රමයක් කියා දුන්නොත් ඒ ක්‍රමය මොකක් වුණත් ඒකෙ උපරිම ප්‍රයෝජන ගන්න බලනවා. බෝතල් මූඩියකින් එකයි නම් මාත්‍රාව දීල තියෙන්නෙ, අතට අහු වුණාම ඒ ටික මදි වගේ පේන්නෙ. ඉතින් මොකද කරන්නෙ අහුරක් පිටින්ම දානවා. ඒ තමයි ගොවියගෙ හිතේ තියෙන මට්ටම. ඔය විදිහට ගිහින් තමයි ටික ටික විස වෙලා අද තියෙන තත්ත්වයට පත් වෙලා තියෙන්නෙ. ඒක තව දුරටත් ඔඩු දුවනවා. ගහකට දාන පෝරවල වුණත් සීමාවක් ඒ අය දන්නෙ නෑ. පොඩි එවුන්ට යමක් අහු වුණා වගේ ඔහේ දමල විසි කරනවා. ඒ කිසිම ක්‍රමවේදයක් දන්නෙ නැතිව ඒව නිකං ඒ අයගෙ අත්දැකීම් හැටියටම ගෙනියනවා. අන්තිමට වෙන්නෙ භවබෝග විස වීම. මේ වෙන කොට රසායනික පොහොර, කෘමි නාශක, වල් නාශක නිසා මහ විනාසයක් වෙලා තියෙන්නෙ ඔය විදිහට.

දැන් ඒ විස වීමේ ප්‍රතිවිපාක තමයි මේ වෙන කොට මිනිස්සු විඳවන්නෙ. සමහර පළාත්වල හැම පවුලකටම වකුගඩු රෝගියෙක් ඉන්නවා. එහෙම නැත්නම් ඒ රෝගය උත්සන්න වෙලා පවුලෙ කවුරු හරි මිය පරලොව ගිහින්. කොටසක් පිළිකා රෝගයෙන් පෙළෙනවා. තව කොටසකට අංශභාගය. තවත් විසාල පිරිසකට දියවැඩියාව. ඊට අමතරව කොලෙස්ටරෝල්, විවිධ ආසාත්මිකතා, ශරීරය අප්‍රාණික වීම, හිස කැරකිලි ගතිය... ආදී තවමත් මාරාන්තික තත්ත්වයට පත් නොවෙච්ච ආබාධ බොහොමයි. ඒ අතර මී උණ වගේ විවිධාකාරයේ අලුත් රෝග වර්ගත් ඇවිත්.

හැබැයි මේ එන රෝගාබාධ ගැන කතා කළාට ඒවා හැදෙන ප්‍රභවය හුග දෙනෙක් සඟවනවා, වසන් කරනවා. ඒ වසන් කරපු ගති ලක්ෂණයෙන්ම අන්තිමට වසංගතයක් බවට පත් වෙලා. උදාහරණයක් විදිහට මී උණ (ලෙප්ටොස්පයි-රෝසිස්) කියල රෝගයක් තියෙනවා. බටහිර විශේෂඥයො කියන්නෙ, කුඹුරුවල ඉන්න මීයන්ගෙ මුත්‍ර ජලයට මිශ්‍ර වෙලා ඒවා කුඹුරු කරන අයගෙ ශරීරයේ සීරුම් තුවාල හරහා ශරීරගත වීමෙන් මේ මී උණ කියන රෝගය ඇති වෙනව කියල. ඉතින් අපේ අයත් විශේෂඥයො කියන නිසා ඒක ඒහෙමමයි කියල පිළිගන්නව මිසක් මේ ගැන නිකමටවත් විමර්ශනය කරල බැලුවෙ නෑ.

දැන් එතකොට මේ මී උණ කියන රෝගය ආවෙ කවදද? මේ මෑත කාලයේ අවුරුදු 25 - 30 කටත් මෙහා. එතකොට ඊට පෙර කුඹුරුවල මීයො හිටියෙ නැත්ද? ඇයි එහෙනම් ඒ කාලෙ මී උණ නොතිබුණේ? මෙතනදි මොකද වෙලා තියෙන්නෙ, වස විස ගහල පොළොවට උරා ගෙන මනුස්සයට දැනෙන මට්ටමේ යම්කිසි විනාසයක් වෙන්න එක්තරා කාලයක් යනවා. එහෙම කාලයක් ගියාට පස්සෙ ඒකෙන් යම්කිසි රෝගීතාවයක් හට ගත්තම ඒකෙන් සිද්ධ වුණා කියන්නෙ නෑ. කිව්වොත් ඒ වස විස නිෂ්පාදකයින්ට පාඩුයි. ඒ නිසා මොකද කරන්නෙ ඒ අය වෙනම විශේෂඥයො හරහා නිර්දේශ වාර්තා හදල, පැත්තක යන මීයෙක්ගෙ පිට දාල මේක හැදුනෙ මී මුත්‍ර නිසා කියල

පෙන්වනවා. ඒකට නම දාන්නෙත් මී උණ කියල. ඉතින් සාමාන්‍ය මිනිස්සුත් ඒක පිළිගන්නව මිසක් ඒ ගැන විමර්ශනය කරල බලන්නෙ නෑ.

විදෙස්වලින් එන නිර්දේශ වාර්තාවලින් මේක මේ විදිහටයි හැදෙන්නෙ කියල පෙන්නුවම ඒක වෙන එකකින් හැදුන කියල සාමාන්‍ය අයට ඔප්පු කරන්න බෑ. මොකද විදෙස්වලින් වාර්තා දෙන්නෙ යම්කිසි විදිහකින් උපක්‍රමශීලී ක්‍රමයකට අනුව. ඒ කියන්නෙ කෘෂි රසායන නියමිත මාත්‍රාවන්ට අනුව යොදපු කුඹුරුවලින් ගන්න වාර්තා තමයි ඒ අය මේ නිගමනවලට එන්න උපයෝගී කරගන්නෙ. රසායනික ද්‍රව්‍ය යොදල වගා කළත් ඒ කුඹුරු නියමිත මාත්‍රාවන් යොදා ගෙන කරල තියෙන නිසා අපේ කුඹුරු මට්ටමට මාරාන්තිකව විස වෙලා නෑ. ඒ නිසා ඒ වාර්තා අනුව වස විසවලින් මී උණ හැදෙන්නෙ නෑ කියල තමයි පෙන්වන්නෙ. දියවැඩියාව ගත්තත් එහෙමයි. ශරීර ඉන්ද්‍රියන්වලට අධික වසවිස කාවැදීම නිසා ඒ ඉන්ද්‍රියන්ගෙන් සිද්ධ වෙන අපද්‍රව්‍ය පෙරීමේ ක්‍රියාවලියට බාධා වීම නිසා තමයි දැන් තියෙන දියවැඩියා රෝග තත්ත්වය හටගෙන තියෙන්නෙ. නමුත් ඒ කාරණය කියන්නෙ නැතිව, කන බොන ආහාරවල තියෙන අධික සීනි සහ පිටි නිසා හැදුන කියල තමයි පෙන්වන්නෙ. එතකොට අපේ ඉස්සර හිටපු මුතුන් මිත්තො කැවුම්, අග්ගලා වගේ සීනි පිටිවලින් හදපු ආහාර ගත්තෙ නැත්ද? ඒ අයට මේ වගේ ලෙඩ රෝග තිබුනෙ නෑ. දැන් වෙලා තියෙන්නෙ මේ අධික වස විස භාවිතය නිසාම වෙච්ච වින්නැහියක්.

එතකොට පිටරටවල ඒ රසායන බෙත්වල මාත්‍රා තීරණය කරන්නෙ ගොවියො නෙවෙයි, විශේෂඥයො. ගොවියො කරන්නෙ කම්කරුවගෙ වැඩේ. ඒ අයට කිව්ව දේ කරනව මිසක් ඒවා හිතුමතේට භාවිතා කරන්න බෑ. ඒවා රජය මැදිහත් වෙලා කරන්නෙ. නමුත් දැන් තියෙන තත්ත්වයේ හැටියට ලංකාවෙ ඔක කරන්න බෑ. මොකද අපේ බොහොමයක් ගොවියන්ට අං ඇවිල්ල. ඒ අයට මාත්‍රා නිර්දේශ පෙන්වන්න ගියොත් ඒවායින් පිට පනිනවා. එතකොට ලෙඩේ ඔඩු දුවල ඉවරයි.

ඉතින් මේ විදිහට සීමාව ඉක්මවන්නෙ නැතිව නියමිත මාත්‍රාවන් අනුගමනය කරන්න බැරි නම්, මේ වගේ දේවල් සම්බන්ධයෙන් රජය මැදිහත් වෙලා ජනතාව දැනුවත් කරල මේ වස විස තහනම් කරල වෙනත් විකල්පවලට යනව හැර වෙන විසඳුමක් නෑ. වෙළඳපොළට මේ වස විස එවන නිසාම තමයි මිනිස්සු ඒවා මිලදී ගන්නෙ. රජයට ඒව නවත්වන්න පුළුවන්. බැරිකමක් නෑ. නමුත් නතර කරන්න විදිහක් නැත්තෙ, දැනට හදල තියෙන ක්‍රමවේද අනුව ඒවායින් විසාල ලාභ ලබන පිරිස්, සමාගම් ඉන්නවා. රජයත් ඒවායින් ලාභ ලබනවා. ඊට අමතරව තවත් අතරමැදි පිරිස් ඉන්නවා. ඉතින් විෂය භාර ඇමති කෙනෙක් ආවත්, අන්තිමට කාලයක් ගියාට පස්සෙ ඒකට විරුද්ධව වචනයක්වත් කියන්න බැරි තත්ත්වයට පත් වෙනවා. ඒ අය එන්නෙ නම් සියල්ල සුද්ධ කරන්න බලාගෙන. නමුත් ඇවිත් බලනකොට ඒ අය දන්නෙත් නෑ, ගුප්ත පැත්තකින් ඒ අයට විසඳගන්න බැරි ප්‍රශ්න එනවා. ඊළඟට ඉතින් නිහඬ වෙනවා.

ඉතින් දැන් මේ වස විස භාවිතය මහා ජාලයක් බවට පත් වෙලා. සියල්ල මුදල්වලට යට වෙලා ඉවරයි. ඒ නිසා මිනිස්සු දැනුවත් වෙන්න ඕන, ඒ වස විස භාවිතා කරල හදන නිෂ්පාදන ප්‍රතික්ෂේප කරල හරි තම තමන් සුළුවෙන් හරි වගා කරන්න පටන් ගන්න. අඩු ගානෙ තමන්ගෙ කෑමට තමන්ගෙම ගෙවත්තෙ පුංචි කොරටුවක් සකස් කරගන්න පුළුවන්. ඒ වගේම මේ වෙනකොට වස විස නොගහපු එළවළු පළතුරු තියෙන පොළවල් තියෙනවා. ඒක බොහොම හොඳ දෙයක්. නමුත් බොහොම ප්‍රවේසමෙන් ගන්න ඕන. මොකද දැන් ඒ වගේ නිෂ්පාදනවලට ජනතාවගෙ වැඩි ඉල්ලුමක් තියෙන නිසා, ඔය අස්සෙ වස විස ගහපු නිෂ්පාදනත් නොගහපු ඒවා වගේ ඔය අතරට රිංගන්න පුළුවන්.

අනික් කාරණය තමයි අපේ මිනිස්සුත් වෙළඳපොළට ගිහින් තෝරන්නෙ හොඳට දිලිසි දිලිසි තියෙන කිසිම පළුද්දක් නැති පෘෂ්ටිමත් එළවළු, පළතුරු. නමුත් ඒවා බොහෝ කොටම වස විස ගහලමයි ඒ වගේ බාහිර ඔපයට හදල තියෙන්නෙ කියන කාරණය දන්නෙ නෑ. ගුල්ලො ගහපු, පණුවො කාපු, කේඩැරි ගැහිච්ච ඒවා දිහා බලන්නෙවත් නෑ. නමුත් ඇත්තටම බලනකොට ඒවා අරවට වඩා හොඳයි. මොකද ගුල්ලෙක් පණුවෙක් ගැහුව කියන්නෙ බොහෝකොටම ඒවට වස විස ගහල නෑ කියන එක. ගුල්ලෙක්, පණුවෙක් හිටිය කියල ඒක විස වෙන්නෙ නෑ. අර ලස්සනට පිට ඔපයට රුවටිලා ගන්න එළවළු පළතුරු තමයි අන්තිමට විස වෙලා තියෙන්නෙ. නමුත් සෞඛ්‍ය බලධාරීන් පවා අර වගේ ගුල්ලො, පණුවො ගහපු එකක් අල්ලගෙන දඟලනව මිසක් මේ වස විස ගහපු ඒවා ගැන හොයන්නෙ බලන්නෙ නෑ. ඒකයි දැන් තියෙන තත්ත්වය.

ඉතින් වෙළඳපොළට ගියාම කේඩැරි වෙලා ගිය එළවළු පළතුරුවලින් හොයන්න පුළුවන් එක්තරා මට්ටමකට වස විස නොගහපු ඒවා කියල. පෙළක් ඒව අස්සෙ පුංචි පුංචි පණු බිත්තර තියෙනව නම්, පණුවො ඉන්නව නම්, එක්කො ඒවට වස විස ගහල නෑ, එහෙම නැත්නම් ගැහුවට හරියට වැදිල නෑ. කඩල, මුං ඇට වගේ දෙයක් ගත්තත් ගුල්ලො ගහල කියන්නෙ ඒවාට වස විස ගහල නෑ කියන එක. ඉස්සර රජයෙන් බෙදපු කූපන් පොත්වලට තමයි සමුපකාරයෙන් බඩු දුන්නෙ. ඒ දවස්වල හාල් බක්කියට හේත්තු වෙන්න බෑ වටේටම ගුල්ලො දුවනවා. හැම හාල් බක්කියකම ගුල්ලො ඉන්නවා. මොකද ඒ කාලෙ හාල්වලට වස විස ගැහුවෙ නෑ. නමුත් දැන් හාල්වලටත් ගුල්ලො විදිනවට බෙත් ගහනවා. ඒ වගේම කල් තියාගන්න වෙනම බෙත් ගහනවා. නමුත් ඒ කාලෙ ගුල්ලො ගහපු එක ගැටළුවක් වුණේ නෑ. හැබැයි අද හාල් කොට්ටයක ගුල්ලෙක් හිටියොත් නඩුත් දානවා.

සාමාන්‍ය කන බොන ආහාරවලට විතරක් නෙවෙයි, අද බුලත් විටට ගන්න පුවක්වලටත් විස දානවා. ටෙල්සාන් (ඩයිමෙතිල් ඩයිතියෝ පොස්පේට්) හෝ පැරකොට් කියන කෘමිනාශකවල දාල තමයි සමහරු පල් පුවක් හදන්නෙ. ඒ වස කුප්පිවල මූඩිවල පුංචි සිදුරක් හදල මඩ පුවක් බූලිවලට දානවා. බූලියට නැවත වතුර දාන්න ඕනත් නෑ, තියෙන වතුර ටිකෙන් නිකං පල් වෙවී පෙඟී පෙඟී තියෙනවා. එතකොට අවුරුද්දක් විතර යනකල් අර වස කුප්පියෙන් විස කාන්දු වෙන්නෙ බොහොම හෙමින්. ඒකෙන් පුවක් නරක් නොවී පල් වෙනවා. හැබැයි පුවක් ගෙඩියෙ මදය අර විසට කළුපාට වෙනවා. ඒකෙන් විස දාල කියල හොයාගන්න ☞

පුළුවන්. ඊට පස්සෙ පුවක් අහකට ගන්න මාසයක් විතර තියා වතුර මාරු කරනවා. අර පල් වතුර ටික අහක් කරල වතුර සුද්ද කළාම ගඳ අඩු වෙනවා. නමුත් ඒ පුවක් හරි විසයි. හැපුවම දත් මුල් පවා ලේ එන්න පටන් ගන්නවා. දන් හුඟක් තැන්වල ඔය වගේ පුවක් තියෙනවා. පුවක් ඉක්මනට මඩ කරන්නයි, කල් තියාගන්නයි තමයි එහෙම කරන්නෙ. නරක් වෙනවටත් වැඩිය මදුරු පණුවො හැදෙනවටත් එහෙම කරනවා. ඉතින් කට වටේට රෙදි කෑල්ලක් බැන්ද නම් මදුරු පණුවො හැදෙන්නෙ නෑ. මොකද එතකොට සතුන්ට ඇතුළට යන්න බෑ. වස නොගහ එහෙම කරන්න පුළුවන්කම තියෙද්දිත් ඒක කරන්නෙ නෑ.

ඊළඟට අද මඤ්ඤොක්ක අල ගලවන්න ලේසි වෙන්න කියල පොළොව පෙඟෙන්නත් සමහරු විස බේත් වර්ග ගහනවා. ඒ වගේම පළතුරු ඉදවන්න කාබයිට්වලට අමතරව දූන් තවත් විශේෂ රසායන යොදනවා. ඒවා ගහපු ගමන් පැය ගණනක් ඇතුළත ඇට මේරිලත් නැති ළපටි ගෙඩි පවා බලා ඉඳෙද්දී ඉදෙනවා. දූන් තියෙන්නෙ කෙලින්ම ඉදවන්නම හදල එවන රසායන. ඒවා වතුරත් එක්ක දාල ඉස්සම පැය ගණනින් ඉදෙනවා.

ඉතින් මේ රසායනික පොහොර සහ කෘමිනාශකවලින් පස්සෙ ඊළඟට ආවෙ වල් නාශක. පටිච්ච සමුප්පාදයට අනුව බැලුවොත්, මිනිස්සුන්ගෙ වල් ගති වැඩි වෙන කොට තමයි වඳ කරන්න බැරි මට්ටමට වල් ගස් වැල් හැදෙන්නෙ. එතකොට වගාවට එන ආපදාවත් වැඩියි. පටිච්ච සමුප්පන්නව ඇති වන හේතු ඵලය තමයි ඒ. වල් වැඩ කරනවා, වල් විදිහට හැදෙනවා, වලත්තකම් කරනවා... ආදී වශයෙන් කතාවටත් කියනවා. නොගැළපෙන කාමය, නොගැළපෙන වැඩ, දුෂ්චරිත... ඒ සියල්ලම වල් වැඩ. ගෙදර යමක් යුක්ති සහගතව කන්නෙ බොන්නෙ නැතිව තනියෙන් කනව බොනවා, ගැළපෙන විදිහට හොයල බලල දෙන්නෙ නෑ. උදව් උපකාර කළ යුතු අයට ඒවා කරන්නෙ නෑ. ගරු කළ යුතු අයට ගරු කරන්නෙ නෑ. තමන්ට ඕන විදිහට හිතුමතේ ජීවත් වෙනවා. වල් විදිහට ජීවත් වෙනව කිව්වෙ ඒකයි.

එතකොට විශ්වයට නිදහස් වෙන්නෙත් වල් ස්වභාවය. සරු සාර ගස් වැල් හට ගන්න ශක්තියක් මනුස්සයින්ගෙන් නිදහස් වෙන්නෙ නැතිව යනවා. ගස් කොළන් හරියට හැදිල ක්‍රියාත්මක වෙන්නෙ, ප්‍රධාන වශයෙන්ම මිනිස්සුන්ගෙන් පිටවන ශක්තිය අනුව. මිනිස්සු වල් විදිහට හැදෙන්න ගත්තම ඇති වන පරිසරය තමයි ඒ. ඉස්සෙල්ලම ගති දූෂ්‍ය වෙලා ගති විපත්තිය හට ගන්නවා. ඊළඟට ප්‍රයෝග විපත්තියෙන් පටන් ගෙන කාල විපත්තියත්, ඒ අනුව උපධි විපත්තියත් එනවා. උපධි විපත්තිය ආවම ලැබෙන අස්වැන්න අඩු වෙනවා, විනාස වෙනවා. වල් ගස්වලින් වැහිල වගාව විනාස වෙනවා. මිනිස්සුන්ට නොයෙක් ලෙඩ රෝග හැදිල විනාස වෙනවා. එතකොට කෘමිනාශක භාවිතය කියන්නෙත් වල් වැඩක්. මොකද සත්තු මැරෙනවා, මිනිස්සුන්ට විස වෙනවා, පොළොව නිසරු වෙනවා. ඉතින් මිනිස්සු දස අකුසල්වලින් තොරව දස පුණ්‍ය ක්‍රියාවල යෙදෙන්න ගත්ත නම් ඔය ප්‍රශ්න හුඟක් වළකිනවා. ඒකට කිසිම ආගම් බේදයක් අවශ්‍ය නෑ. හැම කෙනාටම කරන්න පුළුවන්. මේ බණ දහම් අහල අවංකව ජීවත් වෙන්න ගත්ත නම් ඔය ප්‍රශ්නය හුඟක් දුරට අඩු වෙනවා. මුල් කාලෙ අපේ රටේ මිනිස්සු අතර ඔය තත්ත්වය තිබුණා. ඒ නිසා තමයි පැරකුම්බා රජතුමාගෙ කාලෙ මේ කෘමි නාශක, වල් නාශක, රසායනික පොහොර නැතිව මහ විසාල සරුසාර අස්වැන්නක් ලැබුණෙ.

ඉතින් දැන් තියෙන තත්වය අනුව මේ වස විස තහනම් කරල විකල්පවලට යනව මිසක්, ඒකෙන් එන රෝගවලට බේත් කරල මේ ව්‍යසනය නවත්වන්න පුළුවන්කමක් නෑ. අපිට දූන් ජීවත් වෙන්න සිද්ධ වෙලා තියෙන්නෙත් ඒ පරිසරය තුළමයි. ඕක දිගටම ගියොත් වෙන්නෙ මහා වසංගතයක් හැදිල මනුස්ස ප්‍රජාවම විනාස වෙලා යාම. අන්තිමට ගමකට 10 - 15 ක් වගේ තමයි ඉතිරි වෙන්නෙ. ඊට පස්සෙ බේත් ගහල, පෝර ගහල හදල කන්න බොන්න දෙන්න තරම් පිරිසක් නෑ. ඒ කාලයට ඉන්න ටික දෙනා එකතු වෙලා කොහේ හරි තැනක් හදාගෙන මොනව හරි කාල බීල ඉන්නවා. ඒ විදිහට තමයි නැවතත් වැද්දො වගේ අලුතින් පටන් ගන්න වෙන්නෙ. කාලයෙන් කාලයට ඕක සිද්ධ වෙනවා.

අද මිනිස්සු ලෞකික අතින් දියුණුවට ආවයි කිව්වට, ඔය විදිහෙ දියුණුවට ආවෙ අද විතරක් නෙවෙයි. අවුරුදු දහස් ගණන් ගියාම කලින් කලට ඔය දේ සිද්ධ වෙලා තියෙනවා. මනුස්සයො අධික තණ්හාව නිසා ප්‍රයෝග විපත්තියෙන් කාලයකට විනාස වෙලා යනවා. ඉතිරි වෙන සුළු පිරිස තාවකාලික ගල් ගෙවල් වගේ තැන්වල ජීවත් වෙනවා. ඒ වගේ ප්‍රධාන තැනකට ඔක්කොම එකතු වෙලා එක පවුලක් වගේ ජීවත් වෙන්න පටන් ගන්නවා. එතකොට මේ දූන් තියෙන නවීන උපකරණ ආයුධ සියල්ලමත් විනාසයි. ඊට පස්සෙ ඉතින් දන්න දන්න විදිහට මොනව හරි හදාගෙන සාමාන්‍ය හැකියාවකින් තමයි ජීවත් වෙන්නෙ. එතැන් පටන් නැවත ක්‍රමයෙන් දියුණු වෙලා තමයි අද තත්ත්වයට ව්‍යාප්ත වෙන්නෙ. ඕක ඉතින් චක්‍රයක් විදිහට යනවා. මේ විදිහට හිතුමතේට වස විස භාවිතයත් ප්‍රයෝග විපත්ති විදිහට ඇවිත් ඒ වගේ විනාසයන් හටගන්න හේතු වෙනවා.

ඉතින් දූන් වුණත් තවත් බලාගෙන ඉන්නෙ නැතිව පැරණි කාලෙ තිබිච්ච ගොවිතැන පටන් ගන්න පුළුවන්. ඒ සම්බන්ධයෙන් අත්දැකීම් තියෙන අය අදත් නැතිව නෙවෙයි. ඒ අයට ඒක කරන්න පුළුවන්. නමුත් අද ඉන්න සියල්ලන්ටමත් ඒක කරන්න බෑ. මොකද ආත්ම ලාභයම බලාපොරොත්තුවන ගොවියො මේ වගේ දේවල් කියනවටත් තරහයි, අකමැතියි. ඒ අය ලාභ බලාපොරොත්තුවෙන් විකුණන්න හදන වගාවන්ට පුළුවන් තරම් වස විස දාල, තමන්ට කන්න ගන්න කොටස වෙනම වස විස නොගහ පුංචි කොරටුවක වගා කරනවා. මිනිස්සු මැරුණත් කමක් නෑ කියල වස දාල දෙනවා. ඉතින් ඒ වගේ අය කවදාවත් කැමති නෑ, මේ වගේ හෙළිදරව් කිරීම් කරනවට. මිනිස්සු මළත් කමක් නෑ ඒ අයට ඕන සල්ලි විතරයි. කොටින්ම කියනව නම් කෘමිනාශක, රසායනික පොහොර නොගහ වගා කරන ගොවියො එක්කත් තරහ ගොවියො ඉන්නවා. ඒ වගේම කෘතීම කෘෂි රසායන විකුණන සමාගම් මේවාට විරුද්ධයි. ඒ අයත් මේ කෘෂි රසායන භාවිතයට පුළුවන් තරම් ගොවියො පොළඹවනවා.

ඒ වගේම මේ වස විස භාවිතාවේ අද කතා නොකරන කර්ම විපාක පැත්තකුත් තියෙනවා. ඒ විපාකයත් ඇත්ත වශයෙන්ම නිගමනය කරන්න, සීමා කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. දූනුවත්වම

කරන අයට සතර අපාගත වෙන්න තරම් හේතු වෙනවා. ඒ ගැන දන්නෙ නැතිව, බරපතල බව තේරුම් ගන්න බැරිව කරපු අයටත් මතු අත්බැව්වල ඒ වගේම වස විසට ගොදුරු වෙන්න සිද්ධ වෙනවා. නැත්නම් ස්වභාවයෙන්ම හෝ ඒ වගේ වස විස කැවෙන්න හේතු වෙනවා.

ඊළඟට මේ වස විස ශරීරගත වෙලා පවතින ක්‍රමයක් තියෙනවා. සප්ත ධාතුවලටම ඒ විස ක්‍රමයෙන් යනවා. ආහාරයක් ගත්තම ඒක විස වෙන්නෙ කොටසින් කොටස. ඉස්සෙල්ලම සෙම ධාතුව. සෙම කිව්වම අපි අද පිට කරන සෙම විතරක් නෙවෙයි, ආහාරයේ පෝෂණ ධාතුවකුත් සෙම ආකාරයෙන් තියෙනවා. ඊළඟට ලේ ධාතුවට, මාංශ ධාතුවට, සිවි ධාතුවට, අට්ඨි ධාතුවට ආදී වශයෙන් ගිහින් අවසානයේ ඇටමිදුළු ධාතුවටත්, ශුක්‍ර ධාතුවටත් යනවා. ඉතින් ලේ විස වෙනව කිව්වම ලේ විතරක් නෙවෙයි ඔය සියල්ලම විස වෙනවා. ඕකෙන් මාංශ ධාතුවෙන් එහා තියෙන ධාතුවලට විස ගියාම ඒ විස ලේසියෙන් අහක් වෙන්නෙ නෑ. ඒ මට්ටමට ආවම බේරෙන්න හරි අමාරුයි. එතකොට ඒ ඒ ධාතු කොටස්වල විස ඉවත් කරන්න වෙන වෙනම ප්‍රතිකාර ක්‍රම භාවිතා කරන්න වෙනවා. එක ධාතුවක විස ඉවත් කරන ක්‍රමය අනිකට හරියන්නෙ නෑ. හැබැයි ඕක ඉතින් බටහිර වෛද්‍ය විද්‍යාවෙ නෑ. පෙර තිබිච්ච ළය විරේකය, බඩ විරේකය, මොළ විරේකය, ඇස් විරේකය ආදී ක්‍රමවලින් තමයි සුද්ධ කරන්න වෙන්නෙ.

මොළ විරේකයෙදි හිසට තෙල් දාල නස්න කරනවා. නහයට නස්න කළාම මොළේ බැඳිච්ච, විස වෙච්ච සෙම කැදලි ඇදල එනවා. ඉස්සර නම් මේ ගැන දන්න කියන දක්ෂ වෙද මහත්වරු හිටියා. දැන් ඉතින් ඒ වගේ දේවල් හුඟක් දුරට අභාවයට ගිහින්. දැන් හුඟක් අය ඒ වෙනුවට ආදේශ හදාගෙන ඒ කාලෙ හිටපු මොනව හරි වෙද පරම්පරාවක නමක් දාගෙන ඒ අයගෙන් පැවතෙනව කියල සල්ලි හම්බ කරන එක තමයි කරන්නෙ. නමුත් හරියට කරන අයත් බොහොම කලාතුරකින් ඉන්න පුළුවන්.

ඊළඟට ළය විරේකය කිව්වම ආමාශයෙන් උඩ කොටස තමයි අයිති වෙන්නෙ. ආමාශයේ ඉඳන් ඉහළට කාවැදිල තියෙන වස විස කටින් වමනෙ කරවනවා. එතකොට ඒ ආශ්‍රිතව තියෙන පපුවෙ සෙම් අපද්‍රව්‍යත් එක්කම ඇදිල එනවා. ඊළඟට බඩ විරේකයෙන් කෙලින්ම බඩවැලේ තියෙන අපද්‍රව්‍ය මළපහ මගින් පිට කරනවා. නමුත් ඉතින් මේ වගේ දේවල් කරන එක ශරීරයට හොඳ නෑ කියල බටහිර වෛද්‍යවරුන්ගෙ තියෙන මත නිසා අද ඉන්න හුඟක් අය මේව කරන්නෙ නෑ. ඒ නිසාම ලෙඩ රෝගත් වැඩියි. හැබැයි ඉස්සර නම් මිනිස්සු ශරීරගත වස විස ඉවත් කරන්න පුරුද්දක් වශයෙන් ඕක කළා. හදිසි අවස්ථාවක් වුණොත් විෂ්ණුරාජ වගේ විශේෂ කසායක් අරගෙන ඒක කරගන්නවා. එහෙම නැත්නම් සතියකට සැරයක් දෙකක් අරළු, සෙනෙහෙ කොළ වගේ දේවල් තම්බල බොන පුරුද්දක් තිබුණා. ඒවායින් බඩේ තියෙන විස අපද්‍රව්‍ය සුද්ධ වෙලා යනවා. ඒ වගේ සරල දෙයක් ඕනම කෙනෙකුට තනියෙන් කරගන්නත් පුළුවන්. **ඒ වගේම අරළු කලං 6 යි, සුදු සූකිරි කලං 6 යි දාල හොඳට කුඩු කරල තැඹිලි ගෙඩියක ඇස්ස කපල ඒක ඇතුළට දාල ඇස්සෙන්ම වහල, පින්නෙ තියල උදේට හොඳට පෙරල බොනවා. පෙරපු තරමට ප්‍රතිඵලත් වැඩියි. ඒක ඉස්සර තිබිච්ච ක්‍රමයක්. ඒකෙන් ශරීරය ඇතුලෙ තියෙන විස අපද්‍රව්‍ය අහක් වෙලා ඇඟ සිසිල් වෙනවා. උෂ්ණාධික ශරීර තියෙන අයටත් ඒ ක්‍රමය හුඟක් හොඳයි.** නමුත් අද ඉන්න අය ඒ වගේ ක්‍රමවේද දන්නෙ නෑ.

දැන් වෛද්‍යවරු මේ විරේක වගේ දේවල් කරන්න එපා කියල මතයක් දීල තියෙනවා. ඒකත් ලෙඩ වැඩි වෙන්න එක හේතුවක්. බඩ විරේක, ළය විරේක නොකිරීම නිසා ඇඟට හුඟක් අමාරුකම් එනවා. කලින් කලට කළා නම් මේ වගේ රෝග එන්නෙ නෑ. ඉතින් මේ හේතු නිසා එදා මේ වගේ ලෙඩ රෝග තිබුණෙ නෑ. මොකද මිනිස්සු කාලයකට සැරයක් ඔය වගේ විරේක කරගන්නවා. අවුරුද්දකට සැරයක් බඩ සුද්ධ වෙන්න බෙහෙත් බිව්වා. එහෙම නැත්නම් ශරීරයේ විස එකතු වීමට අමතරව බඩවැලේ පණුවොත් හැදෙනවා. ''මාන්දම නිසා බේරුණ බඩ ගෙඩිය - පණුවන් පිරීලා ඔහුටම බර වැඩිය'' කියල මේ ගැන ලියවෙච්ච කවියකුත් තියෙනවා. පණුවො නිසා බඩ මහත් වෙනවා. උන් වැඩි වුණාම එක එක විකාර පේන්න ගන්නවා, දෙඩවනවා, නිදිමත එනවා. නැත්නම් වමනෙ ගිහින් හිරවෙලා මැරෙනවා. ඉතින් ඊළඟට ඉහට ගහන්නෙ නැති වෙන්න විලඳයි මී පැණියි මිශ්‍ර කරල දෙනවා. ඒක කෑවම මත් වෙලා උන් ඉහට ගහන එක වළකිනවා. ඊට පස්සෙ උන් ඇකිලිලා මළ පහත් එක්ක පිට වෙනවා.

දැන් ඉතින් මේ වගේ ප්‍රතිකාර ක්‍රම කරන්නෙ නැති නිසා කාපු තරමක් ආහාරවල වස විස ශරීරයේ සප්ත ධාතුවලටම කාවැදිල තියෙන්නෙ. ඒ ගොඩටම නැවත කන බොන ආහාරවලින් එකතු වෙන්නෙත් තව තවත් විසමයි. මොකද රසායනික පොහොර, කෘමි නාශක, වල් නාශක ගහන එකේ සීමාවක් නෑ. ඊළඟට අස්වැන්න නෙලා ගත්තම ඒවා කල් තියා ගන්නත්, සතුන්ගෙන් ආරක්ෂා කරගන්නත් නොයෙක් වස විස ගහනවා. ඒ විතරක් නෙවෙයි, නොයෙක් විච්චූරන කරල ඇස රවටන වර්ණකාරකයි, රසකාරකයි එකතු කරනවා. ඒ සියල්ලම පිළිකා ඇතුළු රෝග කාරක.

පසු ගිය කාලෙ රජයෙන් එක්තරා උග්‍ර වල් නාශකයක් තහනම් කළාම, සමහර ගොවියො මොකද කළේ මොනොසෝඩියම් ග්ලූටමේට් (එම්. එස්. ජී) කියන ආහාරවලට දාන රසකාරකය වල් මර්ධනයට යොදා ගත්තා. එතකොට ආහාරවලට දාන රසකාරකයකින් වල් මරන්න පුළුවන් නම්, ඒවා ආහාරත් එක්ක බඩට ගියාම මොන තරම් විස වෙන්න ඕනද? ඉතින් මේවා කන බොන මනුස්සයො ඉතිරි වෙයිද? දැන් ඉතින් මේවායේ කිසිම සීමාවක් අද හොයන්නෙ බලන්නෙ නෑ. ඒ නිසා මොකද වෙලා තියෙන්නෙ, අවුරුදු 60 - 70 යන කොට දුක් විඳල මැරෙනවා. ඊටත් කලින් දියවැඩියාව, කොලෙස්ටරෝල්, අධි රුධිර පීඩනය ... මේ ආදී කෙළවරක් නැති රෝගවලින් පෙළෙනවා. මනුස්සයා විසින්ම කර ගත් ප්‍රයෝග විපත්තිය නිසාම අද තියෙන පරමායුසින් භාගයක් ගෙවෙන්නත් පෙර මාරාන්තික ලෙඩ රෝග හැදිල විඳවනවා. අන්තිමට දහසක් බලාපොරොත්තු පොදි බැඳගෙන හිස් අතින්ම අවසන් ගමන් යනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අතීතය ආවර්ජනය කරන නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් ගැන තවදුරටත්...



නාම ගෝත්‍ර කියන්නෙ අතීතගත වූ කොටස්. ඒවා අරමුණු කරල තමයි පැරණි දේවල් මතක් කරගන්නෙ. ඒවා පංචස්කන්ධයෙන් බාහිරව පවතින දෙයක්. නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් නොදිරුවත් කාලයත් සමග ඉක්මවා යාම, විපරිණාමය වීම සිද්ධ වෙන බව දැන ගන්න පුළුවන් දෙයක්.

දිවැස් ලාභීන්ට සසර සැහෙන කාලයක් ආපස්සට බලන්න පුළුවන්, පෙර අත්බැව් බලන්න පුළුවන්. ලොව්තුරා බුදුන් වහන්සේ නමකට නම්, ඕනෑම සත්ත්වයෙක්ගෙ කල්ප කෝටි ගණනකට එහා අත්බැවක් වුණත් සර්ව සම්පූර්ණයෙන්ම නම් ගොත් සිහි කරල කිසිම අඩුවක් නැතිව දැක බලාගන්න පුළුවන්. ඊට මෙහා ඉන්න දිවැස් ලාභීන්ට ඒ ඒ අයගෙ හැකියාවන් අනුව යම් කිසි සීමිත කාලයක් සිහි කරල බලන්න පුළුවන්. හැබැයි දවසකට පෙර වෙච්ච සිදුවීමක් සිහි කරන කොටයි, කල්ප ගණනාවකට පෙර වෙච්ච දෙයක් සිහි කරන කොටයි ඇති වෙන වෙහෙසක් තියෙනව වගේම ඒ වෙහෙසීමත් අවස්ථා දෙකේදි වෙනස්. ඒ කියන්නෙ ළඟ වෙච්ච සිදුවීමක් සිහි කරනවට වඩා ඈත අතීතයේ සිද්ධියක් සිහි කිරීම වෙහෙසයි. එතකොට ආවර්ජනය බොහෝ ඈතට බලන්න ඕන.

ඒ කාලෙ හිටපු විවිධ පිරිස් ඇවිත් තමන්ගෙ මියගිය අය ගැන කෙලවරක් නැතිව විමසන කොට, ඒක තථාගතයන් වහන්සේට වෙහෙසක් කියල පෙන්වපු අවස්ථා ධර්මයේ සඳහන් වෙනවා. ක්ෂණයකින් අතීතය සිහි කරන්න පුළුවන් වුණත් උන් වහන්සේට ඒකත් වෙහෙසක්, විවේකයට බාධාවක්. නාම ගෝත්‍ර/මතක සටහන් කාලයත් සමග අතීතයට යන නිසා තමයි ඒවා ආවර්ජනය කිරීම වෙහෙසක් වෙන්නෙ. අපට වුණත් අද ඊයෙ වෙච්ච සිදුවීමකට වඩා ඈත අතීතයේ වෙච්ච සිද්ධියක් මතක් කරන්න ගියොත් ඒ සඳහා කල්පනා කරල බලල අමතර වෙහෙසක් ගන්න සිද්ධ වෙනවා, ආවර්ජනය බොහෝ දුර බලන්න වෙනවා.

හැබැයි සමහර අවස්ථාවල පුංචි කාලෙ වෙච්ච සිදුවීමක් මතකයි, නමුත් ඊයෙ දවල්ට කාපු දේ මතක නෑ. එහෙම වෙන්නෙ මනසට තදින් කාවදින තමන්ට වැදගත් සිදුවීම් වගේම, එච්චර වැදගත් නොවන සිදුවීම් තියෙන නිසා. යමක් මතක් කරන කොට චේතනාත්මක වශයෙන් පිහිටල මනසට තදින් කාවදින සිදුවීම් තියෙනවා. ඒක පුද්ගල බද්ධයි. ඒ ඒ පුද්ගලයො අල්ල ගත්ත හැටියට තමයි ඒවා මනසට කාවදින්නෙ. නමුත් සමහරක් සිදුවීම් මනසට යන්නෙ උඩින් මත්තෙන්. හරියට ගල මතුපිට කැඳ වත් කළා වගේ. එතකොට ඒවා අල්ලල හිටින්නෙ නෑ. ඒ වගේ සිදුවීම් බොහොම සියුම් මතකයකට තමයි නැවත ආවර්ජනය වෙන්නෙ. විශේෂයෙන් ක්ෂණිකවම ආවර්ජනය වෙන්නෙ තදින් කාවැදිච්ච විශේෂ මතක සටහන් විතරයි. එතකොට නොදිරන නිසා මතක සටහන් සිහි කරන්න පුළුවන් වුණත්, ඒකටත් වෙහෙසක් දරන්න සිද්ධ වෙන නිසා ඒකත් කැමති විදිහට නෑ, විපරිණාමයි.

ලොව්තුරා බුදුන් වහන්සේ නමකට සමාධියට සම වදින්නෙ නැතිව, ස්වභාවිකවම කෙනෙක්ගෙ අතීත, අනාගත දෙකේ විස්තර දින හතක් ඉදිරියට හා පසුපසට බලන්න පුළුවන් බව ධර්මයේ සඳහන් වෙනවා. යොමු කරල බලනව නම් උන් වහන්සේට කෙළවරක් නැතිව බලන්න පුළුවන්. නමුත් යොමු කරන්නෙ නැතිව ස්වභාවිකවම අර විදිහට බලන්න පුළුවන්. ඒ හැකියාවත් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි පිහිටන්නෙ. පට්ඨාන ප්‍රකරණය වගේ ගැඹුරු දේවල් දේශනා කරන්න නම් සර්වඥතා ඥානය මෙහෙයවන්න ඕන. ඒකත් වෙහෙසක්. ඒ සියල්ල උන් වහන්සේ අවබෝධ කරගෙන හිටපු නිසා සියල්ල දන්නවා. ඒ අවබෝධ කරගත් ප්‍රමාණයෙන් යමෙකුට යම් ප්‍රමාණයක් ඥාන ගෝචරව වටහා ගන්න පුළුවන්ද, ඒ පුළුවන් ප්‍රමාණය විතරක් උන් වහන්සේ දේශනා කරනවා. යමෙකුට ඥාන ගෝචර නොවන යමක් ඇත්නම්, උන් වහන්සේ ඒක දේශනා කරන්න යන්නෙ නෑ.

එතකොට කෙනෙක් මනසින් ළඟ බලන කොට වෙහෙස අඩුයි, දුර බලන කොට වෙහෙස වැඩියි. සිහි කරල බලනකොට අතීතයට යන්න යන්න වෙහෙස වැඩියි. ළඟ අත්බැවක් බලනවට වඩා අත්බැව් හතරක් එහාට බලන එක අමාරුයි. තවත් එහාට බලන්න නම් සමාධිය තියුණු වෙන්න ඕන. ඒත් වෙහෙස දැනෙනවා. අන්තිමට නේවසංඥා නාසංඥායතනයෙදි හිත මෙහෙයවීම තියා හිතක් ගොඩනගන එකත් වෙහෙසක් කියල දැනෙනවා. සිත් ගොඩනගන ගානෙ බිඳිල යනවා. ගොඩනගන්න යන වෙහෙස දැනෙනවා.

චතුරාර්ය සත්‍ය ☞

දේශනාවක් කරන්න වුණත් වෙහෙසක් ගන්න වෙනවා. එහෙම වෙහෙසක් තියෙන නිසාම තමයි, යම් කිසි භික්ෂූන් වහන්සේ නමක් බණ අහල මගඵලවලට පත්වුනාම, මේ භික්ෂුව මා වෙහෙසට පත් නොකර එක වතාවෙන්ම තමන්ගෙ වැඩේ කරගත්ත කියල බුදුන් වහන්සේම සමහර අවස්ථාවලදී භික්ෂූන් වහන්සේලාට ප්‍රසංසා කරල තියෙන්නෙ. ඒ කියන්නෙ වැඩිපුර කියන්න ගියාම තථාගතයන් වහන්සේට වුණත් වෙහෙසක්. ඥානයට ගෝචර වීම වෙනයි, වෙහෙස මහන්සිය වෙනයි. ඒත් ඒ වෙහෙස නොබලා දයානුකම්පාව නිසාම දේශනා කරනවා.

ලෝකයට අයිති සියල්ල වෙහෙසක් බව දන්නෙ නැත්නම් නිරෝධ සමාපත්තියට සමවදින්න බෑ කියලත් ධර්මයේ පෙන්වා තියෙනවා. ඒ වගේම නිරෝධ සමාපත්තියත් එක්තරා සමාපත්තියක් මිසක් හිත පිහිටන්න සුදුසු තැනක් නෙවෙයි. එතකොට ධර්ම දේශනා කිරීමත් ලෝකයට අයිතියි. දස පුණ්‍ය ක්‍රියාවන්ම ලෝකයට අයිතියි. නිරෝධ සමාපත්තියට සම වදින්න නම් ඒ හැම එකකින්ම ඉවත් වෙන මට්ටමට මනස වැඩෙන්න ඕන. අනාගාමී අයටත් ඒ වගේ අවස්ථා වෙහෙසක් බව දකින්න පුළුවන් නිසා තමයි නිරෝධ සමාපත්තියට සමවදින්න හැකියාව තියෙන්නෙ.

එතකොට ඇත සිද්ධියක් බලනකොට ඥානය අතීතයට ගිහින් මෙහෙයවන්න ඕන. ඒක වෙහෙසක්. ලොව්තුරා බුදුන් වහන්සේට ඕන තරම් එහෙම සිහි කරන්න පුළුවන් වුණත් ඒකත් වෙහෙසක්. අතීතයට යනකොට ආවර්ජනය කිරීමේ වෙහෙස වැඩියි. හැබැයි මුහුදු වතුර ලුණු රසද බලන්න මුළු මුහුදම ලෙවකන්න ඕන නෑ. එක පොළකින්, දෙපොළකින් කට ගාල බලල ලුණු රසයි කිව්වම හැම තැනම කට ගාල බලන්න ඕන නෑ කියල වැටහෙනවා. ඒ වගේ මේ පෙර අත්බැව්වල ස්වභාවය, ඒවා හටගන්න හැටි, දුක ගොඩ නැගෙන හැටි, දුකට හේතුව ගොඩ නැගෙන හැටි, ඒක නැති කරන හැටි, නැති කරන මගට අයිති දේවල්... මේ ආදී සියල්ල විග්‍රහ කරන්න පුළුවන් වුණා නම්, ඒ මට්ටමෙන් එහාට පෙර අත්බැව් බලන්න ඕන නෑ. එහෙම බලල වැඩක් නෑ. උන් වහන්සේ වැඩක් නැති දේවල් බලන්නෙ නෑ.

ලොව්තුරා බුදු වෙන්න පාරමිතා පුරන්න යම්කිසි විසි අසංඛ්‍ය කල්ප ලක්ෂයක් හෝ ඒ සඳහා ගතවන කාලයක් තිබුණ නම්, ඒ කාලය තුළ මෙන්න මේ ටික කරල තමයි කෙනෙක් ලොව්තුරා බුදු වෙන්නෙ කියල පෙන්වනව මිසක් එයින් එහා හොයන්න වැඩක් නෑ. කෙළවරක් නැති අනන්තයක් දුක්කත් මොකටද? **පැරණි සතෙක් සඳහටම ජීවත් වෙන්නෙත් නෑ. කවද හරි නිවන් අවබෝධ කරගෙන කෙළවර කර ගන්නවා. ඒ වගේම අලුතින් සත්ත්වයෙක් පහළ වෙනව කියල එකකුත් නෑ. ඉන්න සත්ත්වයින්ම තමයි අත්බැව් වෙනස් වෙවී ඉපදෙන්නෙ. ආරම්භයක් ගැන කියන කොට හැම සතෙක්ගෙම සසර ගමන අනන්තයි. අතීතයේ ඉඳන්ම දුක් විඳ විඳ එන්නෙ.** ඒ ගමන නැවැත්තුවම වැඩේ ඉවරයි. සත්ත්වයා යම් හේතුවක් නිසාද දුක් විඳින්නෙ, ඒ හේතුව නැති කළා නම් ඒ දුකෙන් නිදහස්. අන්න ඒ කාරණයයි බලන්න ඕන. බුදුන් වහන්සේ බලන්නෙ ඒ කාරණය. එහෙම නැතුව නිකං පෙර අත්බැව් බලල නිවන් දකින්නෙ නෑ. ඒ නිසා උන් වහන්සේ කොයි දේකටත් සීමාව ඉක්මවා යන්නෙ නෑ. අත්බැව් කොච්චර බැලුවත් වැඩක් නෑ, ප්‍රතිඵලය එකයි කියල දකිනවා. උන් වහන්සේ අනන්තය දන්නවා. දන්න නිසාමයි වැඩක් නෑ කියල දැක්කෙ.

ලොව්තුරා බුදුන් වහන්සේ වුණත් පෙර අත්බැව් බැලීම් වගේ දෙයක් වටේ ඉන්න ශ්‍රාවකයන්ගෙ ඉල්ලීම් පිට කළා මිසක් නිකරුනේ කළා නෙවෙයි. ඒත් ඒක දැන ගැනීමෙන් වැදගත් යමක් වෙනවනම්, කෙනෙක්ගෙ විස්වාසයක් හරි ඇති වෙනව නම්, උන් වහන්සේ ඒ වෙහෙස නොබලා ඒක ඉෂ්ට කරනවා. ඒත් ඒ වෙහෙස නිසාම තමයි, කෙනෙක් මළාට පස්සෙ ඒ පුද්ගලයගෙ චරිතය අනුව කොහේ ඉන්නවද කියල තමන්ටම බලා ගන්න ක්‍රමයක් කියල දුන්නෙ.

ඊළඟට මේ නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් ගැන කියන කොට කෙනෙකුට මෙහෙම ප්‍රශ්නයක් එන්න පුළුවන්. එතකොට හටගත්තු සුද්ධාෂ්ටක විනාස වෙන්න පුළුවන්ද? සුද්ධාෂ්ටක විනාස වෙන්නෙ නැත්නම්, සත්ත්වයා විනාස වෙන්නෙ කොහොමද? මේකට පිළිතුර මොකක්ද? සුද්ධාෂ්ටක නැතිව අපි කොහොමද උපදින්නෙ? එහෙනම් අපි මියයන්නෙ කොහොමද? මුලින්ම කර්ම ශක්තියේ බලයෙන් සුද්ධාෂ්ටක තුනක් නිර්මාණය වෙලා ඒවා ඇසුරු කරගෙන වස්තු රූපය (පූර්ණ කර්මජයි) ඇති වෙලා ඒක පවත්වන්න ජීවිත රූපය (කයේ ප්‍රාණය පවත්වන්නෙ ඒකෙන්) සහ භාව රූපය (භවයට අනුකූලව ගොඩනැගුණු රූපය) ගොඩනැගෙනවා. ඒවා ප්‍රයෝජනයට ගනිමින් ඒ වස්තු රූපය ක්ෂණයක් පාසා බිඳෙමින්, හැදෙමින් ජීවිත රූපයේ බලයෙන් අත්බැවට හිමි ආයු කාලය සුදුසු පරිදි ලබමින්, අනුරූප වස්තු රූප පහල කරමින්, අසංඛ්‍ය වූ වස්තු රූප පරම්පරාවක් රැහැනක් වගේ නොකැඩී යනවා.

මෙතනදී වස්තු රූපය බිඳෙනවයි කිව්වෙ සම්පූර්ණයෙන්ම බිඳිල යන එක නෙවෙයි, චුත වෙනව කියන එක නෙවෙයි. මොහොතක් පාසා බිඳී බිඳී කර්ම වේගයෙන්ම නැවත හද හදා ක්‍රියාවලිය දිගටම ගෙනියනවා. බිඳෙනවයි කිව්වෙ තිබ්බ්ච තත්ත්වය වෙනස් වීම. අන්තිමට සත්ත්වයාගෙ චුතියෙදී වස්තු රූපයේ ක්‍රියාකාරීත්වය නතර වෙලා, ඒක උතුජ රූපයක් බවට පත් වෙලා විශ්වයට නිදහස් වෙනවා. චුති-පටිසන්ධියෙදී අලුතින් වස්තු රූපයක් හට ගන්නවා. එතකොට පිටවෙච්ච උතුජ රූපයත් සුද්ධාෂ්ටකයක් නිසා, සුද්ධාෂ්ටකයට හිමි ආයු කාලය ගෙවිල අවසානයේ විනාස වෙනවා. එහෙනම් සුද්ධාෂ්ටකය නෙවෙයි මැරෙන්නෙ, ඒ සුද්ධාෂ්ටක රූපය ඇසුරු කරගෙන වස්තු රූපය සහ අනෙකුත් සුද්ධාෂ්ටක ඇසුරින් හටගත් රූප කලාප තමයි මැරෙන්නෙ. නමුත් අනුරූපයන් සුදුසු විදිහට පහල වෙන නිසා පැවැත්ම ගෙනියනවා. සුද්ධාෂ්ටක රූප කලාපයට සත්ත්ව/පුද්ගල බවක් නෑ. ඒක කවදත් ද්‍රව්‍ය කොටසේ මූල ධාතුව වෙනවා. වස්තු රූපය සහ පරිවාර රූප කර්ම ශක්තියෙන් වන ක්‍රියාව පැවැත්වීම සහ මනෝ ධාතුවේ සම්බන්ධ වීම නිසා සත්ත්වයෙක් විද්‍යාමාන වෙනවා. ඒ සත්ත්වයා බාහිර ස්කන්ධ දරන හැටියට ලොකු, කුඩා, පෙනෙන, නොපෙනෙන තත්ත්වයන් දරන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 59 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

### ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුචරිත ආරියරත්න මහතා - වලස්මුල්ල ■ රත්න පෙරේරා මහතා - කැස්බෑව ■ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

### මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ■ මිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ දීප්ති කුලතුංග මහත්මිය - මිරිහාන - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු.5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ තිස්ස කුමාරසිංහ මහතා, දීපා කුමාරසිංහ මහත්මිය, රවින්ද්‍රා කුමාරසිංහ දුව - කඩවත - රු. 3,000/- ■ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ■ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ බ්‍රයන් මිරන් රණසිංහ මහතා - වේයන්ගොඩ රු.2,000/- ■ කේ. ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු.2,000/- ■ වයලට් කුසුමලතා වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු.2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ■ ජනිඳු බිම්සර පුතා ඇතුළු පවුලේ සැම - බාඳුරාගොඩ - රු. 2,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 2,000/- ■ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,720/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ සුභානි එදිරිසිංහ මහත්මිය සහ සඳුන් කුමාරසිරි මහතා - දොම්පෙ - රු.1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,500/- ■ ප්‍රසාද් ගුණසේකර මහතා, ශිරෝමි ගුණසේකර මහත්මිය සහ තිලකරත්න ප්‍රනාන්දු මහතා - මොරටුව - රු.1,200/- ■ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - මිරිහාන - රු.1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ විමල් ගුණතිලක මහතා ඇතුළු පවුලේ සැම - පිටිපන - රු. 1,000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ රු. 1,000/- ■ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පොළ - රු.1,000/- ■ සුනේත්‍රා වික්‍රමසිංහ මහත්මිය - වේයන්ගොඩ - 1,000/- ■ එච්. ඒ. ඉන්දික මධුරංග රූපසිංහ මහතා - මහකන්ද - රු. 1,000/- ■ සමරා ගජනායක මහත්මිය - කහතුඩුව - රු. 1,000/- ■ ඉනෝකා ආරියරත්න මෙනවිය - මොරටුව - 1,000/- ■ ඩබ්. ඒ. මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල රු. 1,000/- ■ එල්.ඒ.කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු.1,000/- ■ ප්‍රියංකා විජේතුංග මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම රු. 1,000/- ■ ඒ.ඒ. වින්ද්‍යා නිර්මාණි දුව - රදාවාන -රු.1,000/- ■ ශිරන්තා කුරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - ඇඹුල්දෙනිය - රු.1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ■ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/ - ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන- රු. 1000/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ■ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න - රු. 1,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත පුතා - හොරණ - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී.ඩී.ඩබ්. සෝමදාස මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ■ නිලූ වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ කේ.එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ නාලිනී නානායක්කාර මහත්මිය - දෙහිවල - රු.1,000/- ■ පද්මා ජයනෙත්ති මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ■ ඩබ්. එච්. ලාල් ලලිත් මහතා, දිල්රුක්ෂි මහත්මිය සහ චාතුර්යා දුව - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, දමයන්ති ස්වර්ණලතා මහත්මිය - කළගෙඩිහේන, එස්. කේ. සෙනෙවිරත්න මහතා - මාතලේ, අසංක වික්‍රමසිංහ මහතා - කිරිබත්ගොඩ, ෂමික මහතා - කැළණිය, ස්වර්ණමාලි මහත්මිය - කිඹුලාපිටිය, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, පී.එම් ගමගේ මහත්මිය, ඒ.එම් පද්මා කුමාරි අබේකෝන් මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය

මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, රජ්ජුරුගෙදර කරුණාවතී මහත්මිය - බොලගම, ගයාන් අගලවත්ත මහතා සහ මැණික් කුරුප්පු මහත්මිය - එකතුව - රු. 8,125/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 180,245/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 276,000/- ■ අනෙකුත් වියදම් - 14,000/- ■ සම්පූර්ණ වියදම - රු. 290,000/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මූණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර - මඟුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# සැපතට සැනසුමට සුව නිවනයි පරම...

ලොව ලොව නිසරු පස් කම් සැප හැම තිස්සේ
දුව දුව නසිති මායා සැප පසු පස්සේ
තව තව සොයයි නොලැබෙන විට සුව රිස්සේ
පච පින නොදැක දිවෙනා ගමනකි දුක් සේ

දහ දුක් විඳන් රැස් කර ගත් වස්තු කඳ
සිහ නද ලෙස කියා ලැබූ තනතුරු නිබඳ
සහයට අරන් ලබනට පැතූ සැපය සොඳ
දහයට ගණින තුරුවත් තිබුණිද සබඳ

කළ පව් සසර සරනා කාලය තිස්සේ
ගැල ලෙස ඇදී එයි එන ගොනු පසු පස්සේ
රළ ලෙස නැගි නැගී බිඳෙනා හැම තිස්සේ
එල ලෙස ලැබෙයි කළ පව් දුක් ගිනි ඔස්සේ

කරනා පාප අකුසල කම් පෙරළි ලොවේ
දරනා තැන්ද තනතුරු හිඳ රජ පුටුවේ
නැසෙනා කලට තිබූ වෙර වීරිය පපුවේ
මැරෙනා මොහොත එන විට කළ දෙය සිහිවේ

සැප සොය සොයා කරනා සටනකි අරුම
විපතට වැටෙයි නොදැනම හිමි වූ කරුම
උපතෙහි පටන් මරණය වෙත යයි උරුම
සැපතට සැනසුමට සුව නිවනයි පරම










පබැඳුම
වළස්මුල්ලේ සුචරිත ආරියරත්න

# තුන් කල් දකින නුවණින් දුටු විනාසේ...

තියෙන කලට හොඳ කර ගෙන ගොඩ යන්නේ
රකින දෙයක් නැත සසුනෙහි පවතින්නේ
ලැබුණ සැනකි කප් කෙළකට නැත එන්නේ
නොගෙන හිටියොතින් දුකමය සිදු වන්නේ

ඇසට කනට දැනුනට අගයක් නැත්තේ
හෙටට රකින පවතන අදහස් ගත්තේ
හිතට නොගෙන පෙන්වන දහමක් ඇත්තේ
පිටට පෙනෙන මුත් ලද නිවනක් නැත්තේ

පමා වුණොත් මතු වැනසුම ගෙන දෙනවා
පෙමා කළොත් රකිනට මග වරදිනවා
නිමා නොවන සසරෙහි තව දුර යනවා
අමා දහම එල නොගෙනම සැඟවෙනවා

පස් බිය සුතුරවල සඳහන් බුදු වදනා
අස් තිර බව සසුන ගැන තිබුණද නොදැනා
තොස් ලෙස වසොත් කියමින් බොදු යැයි දුදනා
හිස් වෙත මුණි සසුන යළි භව දුක හදනා

තුන් කල් දකින නුවණින් දුටු මනා සේ
අන් අය නොම කරයි සසුනෙහි විනාසේ
උන් අයමයි මෙතුල තුන් ලොව දිනා සේ
සුන් කර සසුන ජය ගත් ලෙස සිනාසේ

කහ නූලක් අතේ බැඳගෙන කල වසනා
දහමක් යැයි කියා තම හිතුමත දෙසනා
සහයට නොමැත කිසිවෙක් ඒ ගැන අසනා
මහ කාලෙකුත් එයි ඉන් සසුනම නසනා

දැක දැක නොගෙන අනුවණ කම් තවත් කර
රැක රැක සිටිනමුත් සිත ගෙන පිනෙන් බර
නෙක නෙක උවදුරුද එයි එඅතරින් මර
එක වර ගනු මිසක තව නොම බලන් දුර

එදත් මෙලෙසමයි ලොව බුදු බණ ඇසුනේ
නොදත් උදවියයි තව රැක රැක නැසුනේ
අදත් හෙටත් එලෙසයි ලොවිතුරු සසුනේ
හදත් තම නිවන් මග හිටිවන අසුනේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1059 Rs.25.00
Hela Bodhu Piyuma 59

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.